සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2560ක් වූ බක් මස (ව්‍යවහාරික වර්ෂ 2017 අප්‍රේල්)

67 වෙනි කලාපය



## වරදවා ගත්
## පූති මුත්ත භේසජ්ජය...

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

# දුලභව කළණ මිතුරෙකු

# අප හමු වූවා...



සම්බුදු දහම මතු කොට යළි ලොවට　　බෙදා
පිං කෙත කරන්නට හැකි හැම දෙයම　　සදා
දම් හඬ නිහඬ විය අනිසය දකින　　ලෙදා
ඉන් සිත සසල විය හිමි වෙත ගුණය　　පුදා

කහ ගිනි දැල් එදා චිතකයෙ දැවෙන　　විට
අහකම බලාගෙන ඉන්නට සිතුනි　　මට
වහරක හිමි නමින් බැති මල් පිපෙන　　විට
පහනක රන් එළිය නිවුනිද　　අඳුරකට

පෙර දා පින් තුලින් මෙලොවෙහි සැප　　වින්ද
වරදා නොගෙන ගෙවෙනා බව පව　　පින්ද
වෙරදා කළ කුසල් නිමවයි　　භවයෙන්ද
පරදා මරු දිනුවෙ ලොව කොයි　　කවුරුන්ද

ගිනි දෙයි රුදු සිතින් කළ අකුසල　　කෝදා
වැරදියි තමා නොකළොත් නිසි කල　　ආදා
පහවෙයි මෙත් වඩා කළ කුසලය　　පාදා
එහෙමයි කියා දුන්නේ නිවනෙහි　　බාදා

කෙම් කොළ මලින් සැදු ඔසු සෙත පිණිස　　කළ
ගෙම්දුල ගෙතුල රැකෙනා ලෙස පිරිතෙ　　බල
නැම් හිස ණය ගැතිව සිහි වෙයි ලැබුව　　ඵල
බැම් ලිහලනු පිණිස කී අවිදුවද　　මළ

මිහිරිව සැඟව ඇති සැපතක නිසි　　තත්තේ
සිහියෙන් හිඳිනු පිනවන පසිඳුරු　　මත්තේ
අහිතකි සසර මෙතැනිනි ගොඩ යා　　යුත්තේ
විහිදවූ දහම හිමි ඔබගෙනි දැන　　ගත්තේ



භව උපතකට ලොබ දොස අවිදුවද　　ළඟ
පැවසුව දහම නම් මහ සම්පතකි　　වග
තව මොනවද උසුල ගිනි දුක දැනෙන　　රඟ
නිවනම පතමු යමු දැන අරි අටඟි　　මග

මෙහෙමත් කළණ මිතුරෙකු පෙර නොම　　වූවා
පියයොත් වියෝ වන දුක ගිනි ලෙස　　බෝවා
අපටත් තුන් ලොවින් මිදෙනා මග　　කීවා
හිමිගෙත් දැකුම අපටත් නිවනම　　වේවා

පබැඳුම - නැදිමාලේ ස්වර්ණා සමරසිංහ

# පෙළ දහමින් නිවන් මග 06



අද බොහෝ දෙනෙකුට තියෙන ප්‍රශ්නයක් තමයි, අරිහතුන් වහන්සේලා තවමත් මේ ලෝකයේ වැඩ ඉන්නවද කියන කාරණය. අරිහතුන් වහන්සේලා දස දහස් ගණන් වැඩ සිටිය කියල ඕන තරම් ඉතිහාස කතා අපි අහල තියෙනවා. නමුත් එහෙම අරිහතුන් වහන්සේ නමක් අද කොහෙන් හොයා ගන්නද කියල පසුතැවෙන පින්වතුනුත් ඉන්නවා. හැබැයි අපි අතරම හිටියත් කෙනෙකුට ඒ වගේ උත්තමයෙක් හඳුන ගන්න පුළුවන්ද? අරිහතුන් වහන්සේ කෙසේ වෙතත්, ලොව්තුරා බුදුන් වහන්සේගෙ ශ්‍රී මුඛ දේශනාවලට අනුව, ලෝකයේ සත්‍යය යථාර්ථය දැනගත් ඒ වගේ උත්තමයින් මේ ලෝකයේ පහළ වෙන්නෙ නෑ කියල හිතන එකත් දසවස්තුක මිථ්‍යා දෘෂ්ටියට අහුවෙනවා.

අංගුත්තර නිකායේ, තික නිපාතයේ, 481 පිටුවේ සඳහන් අපණ්ණක සූත්‍රයට අනුව, මේ ලෝකයේ සත්‍යය යථාර්ථය දැනගත් ශ්‍රමණ බ්‍රාහ්මණයන් නෑ කියල සිතීමත් නියත මිථ්‍යා දෘෂ්ටියට අයිති කාරණයක්. කෙනෙක් ඒ වගේ දෘෂ්ටියක් සමාදන් වෙලා අනුනුත් සමාදන් කරවනව නම්, ඒක නියත වශයෙන් අපාගත වෙන්න පුළුවන් තරම් බරපතල පාපයක්. ඉතින් බුද්ධ සාසනයක ඉන්න ශ්‍රමණ බමුණන් තමයි සෝවාන්, සකෘදාගාමී, අනාගාමී සහ අරිහත් කියන මාර්ග ඵල ලාභී උතුමන්. බුද්ධ සාසනයක් තියෙන කාලයක, විශේෂයෙන් අධිගම අන්තර්දාන වෙලා නැති කාලයක, ඒ වගේ උතුමන් නෑ කියන දෘෂ්ටියක නියතව ඉන්නව නම්, ඒක අයිති වෙන්නෙත් මේ නියත මිථ්‍යා දෘෂ්ටි කියන කොටසට. ඉතින් එහෙම උතුමන් ඉන්න බවට මුලින්ම විස්වාසයෙන් අපට පිළිගන්න වෙනවා. එහෙම හිටිය කියල අපි පිළිගත්තත්, කෙනෙක් කොහොමද එහෙම උතුමෙක් හඳුන ගන්නෙ?

මේ ගැන හරියටම කියන්න හැකියාව තියෙන්නෙ ලොව්තුරා බුදුන් වහන්සේ නමකට පමණයි. ඒ උන්වහන්සේගේ ආසවානුසය සහ ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාන නිසා. ඒ අසාමාන්‍ය ඥාන නිසා උන්වහන්සේට හරියටම එල්ල කරල යම් පුද්ගලයෙක්ගෙ කොච්චර ආශ්‍රව ක්ෂය වෙලා තියෙනවද, තව අනුසය කොච්චර තියෙනවද... ආදී වශයෙන් මාර්ග ඵල සිත පවා හරියටම කියන්න පුළුවන්. (වැඩි විස්තර සඳහා පටිසම්භිදාමග්ගප්‍රකරණය 1 - ඥාන කථා කියන කොටස බලන්න) ඉතින් ඊට මෙහා ඉන්න කෙනෙකුට තවත් කෙනෙක් ගැන අනුමාන කරන එක විතරයි කරන්න පුළුවන්. නමුත් ඒ අනුමානයත් ආවට ගියාට කරන්න බෑ. ඒකටත් ක්‍රමවේදයක් තියෙනවා. ඒ ක්‍රමවේදයට අනුව හිතලයි අනුමාන කරන්න පුළුවන්. ඒකටත් කෙනෙක්ගෙ ප්‍රඥාව බලපානවා, ධර්ම ඥානයන්ගේ වැඩීම බලපානවා. ආර්ය මාර්ගය සම්පූර්ණ කරල නැති වුනත් සසරේ පාරමිතා අනුව කෙනෙකුට ඒ වගේ ප්‍රඥාවත් ඥානයත් පිහිටන්න පුළුවන්.

ලොව්තුරා බුදුන් වහන්සේගෙ අග්‍ර උපස්ථායක තනතුර දරපු ආනන්ද හාමුදුරුවො සෝවාන් වෙලා හිටපු උතුමෙක්. මේ බුද්ධ ඥාන නැති, ශ්‍රාවක ඥාන පමණක් තිබුන උතුමෙක්. නමුත් උන්වහන්සේගෙ ධර්ම ඥාන ප්‍රකට වෙච්ච අවස්ථා ත්‍රිපිටක පෙළ දහම තුල සඳහන් වෙනවා.

ධර්මයේ සඳහන් වෙන ආකාරයට, ආනන්ද හාමුදුරුවො සිරිවඩ්ඪ කියන ගිහියෙක් (ගෘහපතියෙක්) ගිලන් වෙලා ඉන්න මොහොතක බලන්න යනවා. (සංයුක්ත නිකාය - 5-1 - 315 පිටුව - සිරිවඩ්ඪ සූත්‍රය) මේ බලන්න ගිය මොහොතේ එක්තරා කතාබහක් ඇති වුනා. ඒ කතාබහ අනුව උන්වහන්සේ අනුමාන කරනවා, මේ සිරිවඩ්ඪ කියන ගිහියා යම්කිසි මාර්ග ඵලයක් ලබල ඇති කියල. ඒ කතාව පෙළ දහමේ සඳහන් වෙනවා. ඉතින් උන්වහන්සේ මේ ගිහියා හමුවෙලා ඒ අසනීපය ගැන අහනවා. මේ වේදනාව ඉවසන්න පුළුවන්ද, කෑම බීම එහෙම කන්න පුළුවන්ද?... ඔය ජාතියේ ආගිය තොරතුරු විමසනවා. ඉතින් මේ සිරිවඩ්ඪ කියන ගිහියත් තමන්ගෙ අමාරුකම් කිව්වා. ඉවසන්න බැරි තරම් රිදෙනවා, කන්න බොන්නත් අමාරුයි... ආදී වශයෙන් තමන්ගෙ වේදනාවන් කිව්වා. ඊට පස්සෙ ආනන්ද හාමුදුරුවො මෙහෙම අහනවා.

ගැහැවිය, එහෙයින් මෙහි ලා තොප විසින් මෙසේ හික්මිය යුතු, "කයෙහි කය අනුව දක්නා සුළුව කෙලෙස් තවන වැර ඇතිව මනා දැනුම් ඇතිව සිහි ඇතිව කාලෙව්හි දැඩි ලොබ හා දොම්නස දුරු කොට වෙසෙන්මි" මේ ආකාරයට කියල උන්වහන්සේ සතර සතිපට්ඨානය දේශනා කරන්න පටන් ගත්තා. ඉතින් මේ ගිහියා කයේ වේදනාව නිසා බොහොම අමාරුවෙන් හිටියෙ. අන්න

ඒ අනුව හිතලයි උන්වහන්සේ එහෙම දේශනා කරන්න පටන් ගත්තෙ. ඔය සේරම අහගෙන හිටපු ඒ සිරිවඩ්ඪ කියන ගිහියා මෙහෙම කියනවා. "වහන්ස, යම් යම් සිවුසිවටන්හු භාග්‍යවතුන් වහන්සේ විසින් දේශනා කරන ලද්දාහුද, ඒ දහම්හු මා කෙරෙහි ඇතියහ. මමද ඒ දහම්හි මැනවින් දිස්වෙමි. වහන්ස, මම කයෙහි කය අනුව දක්නා සුළුව කෙලෙස් තවන වැර ඇත්තෙමි, මනා දැනුම් ඇත්තෙමි, සිහි ඇත්තෙමි. කාලෙව්හි දැඩි ලොබ හා දොම්නස දුරු කොට වෙසෙමි. වහන්ස, යම් මේ පඤ්ච ඕරම්භාගිය සංයෝජන කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ විසින් දේශනා කරන ලද්දාහු නම්, ඔවුන් අතරින් ප්‍රහීණ නොවූ කිසිවක් මා කෙරෙහි මම නොම දකිමි."

දැන් මෙතන පඤ්ච ඕරම්භාගිය සංයෝජන කියල කිව්වෙ දස සංයෝජනවල එන මුල් පහ. ඒ කියන්නෙ සත්කාය දිට්ඨිය, විචිකිච්ඡාව, සීලබ්බත පරාමාසය, කාමරාග සහ පටිඝය. මේ ගිහියා ප්‍රත්‍යක්ෂවම කියනවා, තමන්ගෙ ඒ සංයෝජන පහම බිඳිල ක්ෂය වෙලා තියෙන්නෙ, තමන්ට ඒ ගැන කිසි සැකයක් නෑ කියල. හැබැයි කෙනෙකුට නිකනුත් කියන්න පුළුවන්, මට ඕව නෑ කියල. නමුත් මේ ගිහියා එහෙම ප්‍රත්‍යක්ෂව කිව්වෙ, බුදුන් වහන්සේ විසින් දේශනා කරන ලද දහම අනුව සතර සතිපට්ඨානය අනුගමනය කරල ප්‍රතිඵල ලබා ගත්තට පස්සෙ. එතකොට ආනන්ද හාමුදුරුවො එහෙම දේශනාවක් කළේ, මේ උපාසක මහත්තය මරණාසන්නව කයේ වේදනාවෙන් හිටපු නිසා. ඒ වෙලාවෙදි ඔහු ප්‍රත්‍යක්ෂව කිව්වා, මගේ කයේ වේදනාව විතරයි තියෙන්නෙ, මානසිකව මට කිසි ප්‍රශ්නයක් නෑ කියල. ඒ කියන්නෙ තමන්ට මේ කාමයන්ගෙන් අල්ලන්න දේකුත් නෑ, ඒවා දාල යන්න වෙනවනෙ කියල කිසිම සිත් තැවුලකුත් නෑ කියල.

ඉතින් මෙතනදි අපට වැදගත් කාරණයක් මතු කරගන්න පුළුවන්. ඒ තමයි ලොව්තුරා බුදුන් වහන්සේ දේශනා කළ ධර්මයේ තියෙන සංදිට්ඨික කියන ගුණය. ඒ කිව්වෙ තමන් විසින්ම ප්‍රත්‍යක්ෂ කළාට පස්සෙ, තමන් ඉන්න තැන තමන්ටම තෝරගන්න පුළුවන්. තමන්ට රාගයක් එනවද කියල දන්නෙ තමන්. පිට කෙනෙකුට ඒ රාගය නොපෙනෙන්න රඟපාන්න පුළුවන්. නමුත් තමන්ගෙ හිත දන්නවා, තමන්ගෙ හිත ඇතුලෙ තෙරපෙන රාගයේ තරම. ඊට විරුද්ධව යමක් ආවොත් අර රාගයේ තරමටම ද්වේශයත් එනවා. කාටවත් නොපෙනෙන්න ඒකත් තෙරපගෙන ඉන්න පුළුවන්. ඒත් තමන්ගෙ හිත තමන්ට රවට්ටන්න බෑ. නමුත් කෙනෙක් වැරදියට ධර්මය අරගෙන දෘෂ්ටිගතව ඉන්න පුළුවන්. ඒ දෘෂ්ටිය අනුව තමන් මෙතනයි ඉන්නෙ කියල හිතාගෙන ඉන්නවා වෙන්න පුළුවන්. එහෙම වෙන්නෙ මෝහය නිසා. ඒක හරිම භයානක දෙයක්. **සියළු දෘෂ්ටි අතරින් අරින්න අමාරු දෘෂ්ටියක් තමයි නිවන සම්බන්ධව එන වැරදි දෘෂ්ටිය.** කොච්චර කිව්වත් ඒ වැරදි දෘෂ්ටිය නිසා ඒ කියන දේ පිළිගන්න මැළිවෙනවා. උදාහරණ විදිහට සමහරු දහැන් වඩල ආලෝකය දැක්කම ඒකට නිවන කියල රැවටෙනවා. නමුත් මේ සිරිවඩ්ඪ කියන ගිහියා එහෙම කිව්වෙ ප්‍රත්‍යක්ෂ කරලමයි.

ඇත්තටම මේ ගිහියා ආනන්ද හාමුදුරුවන් ඉදිරියේ ප්‍රකාශ කළේ, තමන් අනාගාමී ඵලය ලැබූ කෙනෙක් කියල. දැන් කෙනෙකුට හිතෙන්න පුළුවන්, කොහොමද එහෙම තමන්ම හරියටම කියන්නෙ කියල, රැවටීමකට අහුවෙලා නෑ කියල. ඕන නම් මේ ගැන තමන්ටම පරීක්ෂණයක් කරල බලන්න පුළුවන්. බෝධි සත්ත්වයන් වහන්සේත් මේ පරීක්ෂණය කළා. ඒ ගැන විස්තරයක් <u>අරිය පර්යේෂණ සූත්‍රයේ</u> මැනවින් සඳහන් කරල තියෙනවා. කොහොමද දැන් අපි මේක හරියටම දැනගන්නෙ? තමන් තුලින්ම පරීක්ෂණයක් කරන්න පුළුවන්. වැඩි ඈතට නොයා, ගිය අවුරුද්දෙ මේ වෙනකොට මගේ මානසිකත්වය කොහොමද, මම මොනවටද ඇලුනෙ, මොනව නිසාද ගැටුනෙ කියල තමන්වම පරීක්ෂණයකට ලක් කරගන්න පුළුවන්.

හරි, එදා මම අලුත් වාහනවලට දැඩි කැමැත්තෙන් ඒව ගැන හොය හොයා ගියා... ඔය වගේ තමන් කැමති දෙයක් මතක් කරගන්න පුළුවන්. ඒ අනුව හිතන්න, එදා ඒවට තමන් කොච්චර නම් ඇලුනද කියල. හැබැයි ඒ අතරතුර තමන් ධර්මයත් අහනවා, ඒ අනුව පිළිපදිනවා. අවුරුද්දකට පස්සෙ තමන් ඒ දේටම කොච්චර ඇලෙනවද ගැටෙනවද කියල බලන්න පුළුවන්. ඒ ඇලීම ගැටීම වැඩි වෙලා නම්, තමන් මේ අනුගමනය කරන ක්‍රමය වැරදියි. එහෙම නැත්නම් තමන්ට කිව්ව දහම තවම වැටහිලා නෑ. නමුත් අඩු වීමක් පේන්න තියෙනව නම්, කොච්චර උත්සාහ කළත් පෙර මට්ටමට ඇලීම ගැටීම ඇති කරගන්න බැරි නම්, එදා ඇලුන මට්ටමට වඩා සෑහෙන්න අඩුවෙන් තමයි දැන් මම ඇලෙන්නෙ කියල තමන්ටම දැනගන්න පුළුවන්. ඒ අනුව ගැටීමත් අඩු වෙලා. තමන්ගෙ හිතට යම් සැනසීමකුත් ලැබිල. ඉතින් බුද්ධ දේශනාව බොරු නෙවෙයි, තමන්ටම දැනගන්න පුළුවන්. රාගක්ඛයෝ නිබ්බානං, ද්වේශක්ඛයෝ නිබ්බානං, මෝහක්ඛයෝ නිබ්බානං. මට එදාට වඩා අඩු වුන රාගය නිසා යම් සහනයක් ලැබිල, නිවනක් ලැබිල, ඒ මට්ටමින් මම නිවිල. මේ අනුවයි අර සිරිවඩ්ඪ කියන ගිහියා කිව්වෙ, තමන්ට සහමුලින්ම කාම රාග නෑ, ඒ අනුව දැඩි තරහක් යන්නෙත් නෑ කියල. එහෙම කියන්න පුළුවන් වෙන්නෙ, මේ ධර්මයේ තියෙන සංදිට්ඨික ගුණය නිසා.

අවසානයේ ආනන්ද හාමුදුරුවො මෙහෙම කියනවා. "ගැහැවිය, තොපට ලාභයකි, ගැහැවිය, තොපට මනා ලැබීමකි. ගැහැවිය, අනාගාමී ඵලය තොප විසින් පවසන ලදැයි."

එතකොට ආනන්ද හාමුදුරුවොත් ඒ ගිහියා කිව්ව දේ පිළි අරගෙන ඔහුට අනාගාමී ඵලය ලැබිල කියල කිව්වා. මෙතනදි අපි දැනගන්න ඕන කාරණය තමයි, ආනන්ද හාමුදුරුවො මේ ගිහියගෙ කීම පිළිගත්ත මිසක් ඵලය ගැන කියන්න ගියේ නැති බව. කලින් කිව්ව වගේ එහෙම දෙයක් එල්ල කරල කියන්න පුළුවන් ලොව්තුරා බුදුන් වහන්සේ නමකට පමණයි.

මේ වගේම කතාවක් ධර්මයේ සඳහන් වෙනවා. එක්තරා මෙහෙණින් වහන්සේ නමක් ආනන්ද හාමුදුරුවන්ට ඇවිත් කියනවා, මට රූප පේනවා ඒත් බලන්න උවමනාවක් නෑ, ශබ්ද ඇහෙනවා ඒත් අහන්න උවමනාවක් නෑ, මොකක්ද මේ සමාධිය කියල. එතකොට ආනන්ද හාමුදුරුවො ගිහින් ඒ ප්‍රශ්නයම ලොව්තුරා බුදුන් වහන්සේට කියනවා. ඉතින් උන්වහන්සේ කියනවා, ඒ මෙහෙණිය ප්‍රකාශ කළේ අරිහත් ඵල සමාධිය කියල. නැවතත් ආනන්ද හාමුදුරුවො ගිහින් ඒ මෙහෙණියට ලොව්තුරා බුදුන් වහන්සේ කිව්ව දේ පහදල දුන්නා. ඉතින් මෙතනදි කාරණයක් පැහැදිලියි. **අනුන්ගෙ මාර්ග ඵල ගැන අපට කියන්න බෑ. ඒකට ලොව්තුරා බුදුන් වහන්සේ නමක්ම ඉන්න ඕන.** නමුත් තමන් ඉන්න තැන අනුමාන කරල ධර්ම ඥානයෙන් කියන්න පුළුවන්, මමත් එතනට ආවොත් මගේ මනස ☞



කොහොම තියෙයිද කියල. කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඉතින් සෝවාන් වෙලා හිටපු ආනන්ද හාමුදුරුවො කොහොමද අනාගාමී උතුමෙකුට බණ කිව්වෙ කියල. මේකට තමයි කියන්නෙ සිවුපිළිසිඹියාව කියල. ඒ කියන්නෙ අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන කියන ඥාන හතරක්. ධර්මය වැටහෙන්නත්, ධර්මය දේශනා කරන්නත් සිවුපිළිසිඹියාව යම් මට්ටමකට හෝ තියෙන්න ඕන.

පටිසම්භිදාමග්ගප්‍රකරණයේ 2 - 91 පිටුවේ "පටිසම්භිදා කතා" කියන කොටසේ මේ සිවුපිළිසිඹියාව ගැන මැනවින් විස්තර කරල තියෙනවා. කෙටියෙන් කියනව නම්, මොකක්ද මේකෙන් කිව්වෙ කියල යම් දෙයක අර්ථය වටහල දෙන්න පුළුවන් නම්, එහෙම නැත්නම් යම් සිද්ධියක් අරගෙන ඒ සිද්ධියේ අර්ථය තේරුම වටහල දෙන්න පුළුවන් නම්, ඒ හැකියාව මේ අර්ථ කියන කොටසට වැටෙනවා. අහන කෙනාට මේ අර්ථය වැටහෙන්න ඕන. ඒ නිසයි කිව්වෙ, ධර්මය අහන කෙනාටත් යම් දුරකට හෝ මේ නුවණ තියෙන්න ඕන කියල. නැත්නම් දහම් වැටහෙන්නෙ නෑ. ඒ කිව්ව අරුත ධර්මයට ගලපල පෙන්වන්න පුළුවන් හැකියාවටයි ධම්ම කියල කියන්නෙ. ඒ අර්ථය තුල මොනවද දැරුවෙ කියල, එහෙම නැත්නම් ඒ කාරණයේ ගැඹුර පෙන්වන්න පුළුවන් හැකියාව තමයි ධර්ම කියල කියන්නෙ. කලින් කිව්ව වගේ, ඒ කාරණය වැටහෙන්න නම්, අහන කෙනාටත් මේ නුවණ තියෙන්න ඕන.

ඊළඟ ඥානය තමයි නිරුක්ති ඥානය. අර කිව්ව දහම් කොටස තව තවත් බෙදල, ඒ කිව්ව අදහස අරගෙන දෙන්න පුළුවන් වෙන්නෙ නිරුක්ති ඥානයෙන්. සමහර උතුමන්ට මේ ඥානයෙන් පදයෙන් පදය වෙන් කරල දෙන්න හැකියාවත් පිහිටනවා. ඒක අති දුර්ලභ හැකියාවක්. ඒකට නිරුක්ති පටිසම්භිදා ඥානයේම එන පද නිරුක්ති ඥානය අවශ්‍ය වෙනවා. ඊළඟට අර්ථයත්, ධර්මයත්, නිරුක්තියත් වටහල දුන්නට පස්සෙ, ඒ කිව්ව දේ තිවනට ගෝචර කරල ඒ හැඟීම දෙන්න පුළුවන් හැකියාවට කියනවා පටිභාන නුවණ කියල. **සසරට බැඳුන සංයෝජන ධර්ම කියන පටි බිඳ හැරීම තමයි පටිභාන කියන්නෙ.** ඉතින් අති දුර්ලභව පහළ වෙන බුද්ධ සාසනයේ මේ සිවුපිළිසිඹියාව තියෙන උතුමන් දුර්ලභයි. එහෙම උතුමන්ගෙන් බණක් අහන්න ලැබෙන එකත් පෙර කරපු පින්වල, කුසල්වල ප්‍රතිඵල නිසා එන දෙයක්.

ඉතින් සෝවාන් වෙලා හිටියත් ආනන්ද හාමුදුරුවන්ගෙ සිවුපිළිසිඹියා ඥාන ඉතාම උසස් මට්ටමක තිබුනෙ. ඒ අනුවයි උන්වහන්සේ අර අනාගාමී ඵලය ලබපු ගිහියට බණ කියල අනාගාමී ඵලය ඔහුට ලාභයක් බව කිව්වෙ. හරියට අපි දෙවරක් චක්කරය ඉගෙන ගන්නෙ 12 ට යනකල් විතරක් වුනාට, ඒ ක්‍රම රටාව හරියට ඉගෙන ගත්ත නම් දෙවරක් චක්කරයෙන් මොන ගාන ඇහුවත් හරියටම කියන්න පුළුවන්. දෙවරක් කෝටිය ඇහුවත් කෝටි දෙකයි කියල උත්තරය හරියටම කියන්න පුළුවන්. අපි ඒ වෙනකල් දන්නෙ නැති වුනාට, ඒ දන්න දැනුමෙන් ප්‍රත්‍යක්ෂවම අනුමාන කරල හරියටම කියන්න පුළුවන්.

ඒ වගේ චක්කරයක් තමයි ලොව්තුරා බුදුන් වහන්සේ උන්වහන්සේගෙ ශ්‍රාවකයන්ට දේශනා කළේ. ඒ චක්කරයට කියනවා පටිච්ච සමුප්පාදය කියල. ඒ ඒ මොහොතෙ කරන සංඛාර අනුව ගොඩ නගන ජාති කියන්න පුළුවන් සමීකරණයක් වගේ. මූලික ටික දැනගත්තම තමන්ට ගණන් හදන්න පුළුවන්, ජාතිය කියන්න පුළුවන්. මගේ ළඟ දැන් බලු වැඩ නෑ, මම බලු ජාතියක ඉපදෙනවා කියන එක වෙන්න බැරි වැඩක්... මේ විදිහට තමන්ටම හොයාගන්න පුළුවන්. ඒ අනුව පොදුවේ මගේ තිරිසන් වැඩ නෑ, ප්‍රේත ගති නෑ, අසුර ගති පැවතුම් නෑ, අපාගත වෙන වැඩ නෑ, ඉතින් මම සතර අපාගත ජාතියක කොහෙත්ම ඉපදෙන්නෙ නෑ කියල, චක්කරය දැනගෙන හරියටම ගණන් හදල කියනව වගේ කියන්න පුළුවන්. එහෙම කියන්න පුළුවන් නම්, කාගෙන්වත් සහතික ගන්න ඕන නෑ තමන් සෝවාන්ද නැත්ද කියල. ඒක තමන්ටම දැනගන්න පුළුවන්.

ඉතින් එහෙම දැනගත්ත කෙනා ඊළඟට හිතන්න ඕන, තමන්ට දහම් කියා දුන්න උත්තමයා, ඒ සත්පුරිසයා කවුද කියල. සෝවාන් වෙන්න නිකං බෑ. ඒකට සෝවාන් අංග හතර සම්පූර්ණ වෙන්න ඕන. සත්පුරිස ඇසුර, සත්ධර්ම ශ්‍රවණය, යෝනිසෝමනසිකාරය, ධම්මානුධම්ම පටිපදාව කියන හතර තමයි මේකට අයිති වෙන්නෙ. මේවායින් සත්පුරිස ඇසුර සහ සද්ධර්ම ශ්‍රවණයට කියනවා පරතෝඝෝෂක ප්‍රත්‍යය කියල. තවත් කෙනෙක් විසින් බාහිරින් ප්‍රත්‍ය දෙන්න පුළුවන්. අපි ළඟ හේතු තියෙනව නම් ඒ හේතු ප්‍රත්‍ය ගැලපිලා අවශ්‍ය ප්‍රතිඵලය ලැබෙනවා. මේ ආර්ය භූමියට එන්න තියෙන පරතෝඝෝෂක ප්‍රත්‍යය කියන්නෙ මොකක්ද කියල බලමු. පෙටකෝපදේශ කියන පෙළ දහමට අයිති මූලික අටුවාවේ තුන්වෙනි පිටුවේ මෙහෙම සඳහනක් තියෙනවා.

ශ්‍රාවකයාගේ සම්‍යග්දෘෂ්ටිය ඉපදීම පිණිස හේතුහු දෙදෙනෙක් වෙති, ප්‍රත්‍යයෝ දෙදෙනෙක් වෙති, චතුස්සත්‍ය සහිත වූ පරතෝඝෝසයද අධ්‍යාත්මයෙහි වූ යෝනිසෝ මනසිකාරයද යන දෙකයි.

ඉතින් සරලව තේරුම් ගත්තොත්, කෙනෙකුට සම්මා දිට්ඨියට පත්වෙන්න නම්, එහෙම නැත්නම් සෝවාන් වෙන්න නම් හේතු - ප්‍රත්‍ය දෙකක් තියෙන්න ඕන. එකක් තමයි චතුරාර්ය සත්‍යය සම්බන්ධ වූ පරතෝඝෝෂය. ඒ කියන්නෙ

චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත් උතුමෙක් විසින් කරන දේශනාවක් අහන්න ඕන. මේ තමයි ප්‍රත්‍ය. කලින් කිව්ව වගේ, අහන කෙනාට තියෙන්න ඕන හේතුව තමයි අර කිව්ව දේශනාව තේරුම් ගැනීමේ හැකියාව. ඒ තමයි යෝනිසෝමනසිකාරය. ඉතින් **ධර්මයේ පැහැදිලිවම තියෙනවා, මේ දහම කියල දෙන්න චතුරාර්ය සත්‍යය අවබෝධ වෙච්ච කෙනෙක්ම, එහෙම නැත්නම් ආර්ය උතුමෙක්ම ඉන්න ඕන කියල.** මේ ආර්ය උතුමා ගැන, එහෙම නැත්නම් පරතෝඝෝෂය ගැන තවත් පැහැදිලි කරල තියෙනවා.

එහි පරතෝඝෝෂය කවරේද යත්, මෙරමාගේ වශයෙන් යම් දේශනායෙක් අවවාදයෙක් අනුසාසනයෙක් සත්‍ය කථායෙක් සත්‍යානුලෝම ධර්මයෙක් වේද එයයි. සත්‍යයෝ සතර දෙනෙකි, දුක යැ සමුද යැ නිරෝධ යැ මාර්ග යි. මේ සතර සත්‍යයන්ගේ යම් දෙසුමෙක් සැඟැදීමෙක් විස්තර කිරීමෙක් විභාග කිරීමෙක් ප්‍රකට කිරීමෙක් ප්‍රකාශ කිරීමෙක් වේද, මේ සත්‍යානුලෝම වූ ඝෝෂ යයි කියනු ලැබේ.

නැවතත් අමුතුවෙන් පැහැදිලි කරන්න දෙයක් නෑ. **චතුරාර්ය සත්‍යය අවබෝධ කරගත්ත උතුමෙකුට විතරයි, තවත් කෙනෙකුට ඒ අවබෝධය එන්න දේශනා කරන්න පුළුවන් වෙන්නෙ.** දැන් කලින් කිව්ව වගේ තමන්ට මේ දහම් අහන්න කලින් තිබුන රාගයයි, දැන් දහම් අහල මාර්ගය වඩාගෙන යනකොට තියෙන රාගයයි අතර වෙනස වැටහෙනව නම්, ක්ෂය වීමක් තියෙනව නම්, ඒ ක්ෂය වීම නැවත කොච්චර උත්සාහ කළත් ගන්න බැරි නම්, තමන් අහගත්ත දහමෙ කිසිම වැරැද්දක් නෑ, ප්‍රතිඵල තියෙනව කියල තමන්ම දන්නවා. ඉතින් ඒ දහම කියා දුන්න උතුමා ගැන කවර කතාද? මේ ආකාරයෙන් අපට කාලයක් ඇසුරු කිරීමෙන් අනුමාන ඥානයෙන් රහතන් වහන්සේ හොයාගන්න පුළුවන්.

ඉතින් මේ කෙටියෙන් විග්‍රහ කළේ පෙළ දහම අනුව, ශ්‍රී මුඛ බුද්ධ දේශනා අනුව, තමන් සතු අනුමාන ඥානයෙන් අරිහතුන් වහන්සේ නමක් හෝ ආර්ය උත්තමයන් වහන්සේ නමක් හෝ හඳුනගන්න හැටි. මේ මහා භද්‍ර කල්පයේ, ක්ෂණයක් වගේ අවස්ථාවක අපිටත් ඒ වගේ උත්තමයෙක්ගෙන් නිවන් දකින දහම අහන්න අවස්ථාව ලැබුනා. වහරක අභයරතනාලංකාර කියන ඒ උත්තමයා අපට පරතෝඝෝෂක ප්‍රත්‍යය දුන්නා. ඉතින් උන්වහන්සේ ගැන, උන්වහන්සේගෙ මානසිකත්වය ගැන යම් කිසි හෝ සැකයක් කෙනෙකුට තියෙනව නම්, ඒ සැකය දුරු කරන්න තමයි අද මේ ලිපිය තුලින්, මහා තෙරුන් වහන්සේලා අවුරුදු දහස් ගණනක් නොවෙනස්ව රැකගෙන ආ පෙළ දහම තුලින් ධර්මානුකූල ගවේශනයක යෙදුනෙ.

වහරක අභයරතනාලංකාර හාමුදුරුවන්ගෙන් හෝ උන්වහන්සේ-ගෙන් අහල දැනගත්ත කෙනෙක්ගෙන් හෝ දහම් අහල සතර අපායෙන් මිදුනද, කාමරාග පටිඝ... ආදී අනෙක් සංයෝජන ධර්ම තුනී කරගත්තද, සහමුලින්ම නැති කරගත්තද කියන කාරණය තමන් තුලින්ම දැන ගන්න පුළුවන්.

උන්වහන්සේ පෑ මහා පෙළහරක් තමයි දේශනා ප්‍රාතිහාර්ය. ලෞකිකවත් ලෝකෝත්තරවත් පෑ ඒ ප්‍රාතිහාර්යන් ගැන මේ සඟරාවෙම "අභයරතනා-ලංකාරය" නම් ලිපි පෙළ කියවනකොට තේරුම් ගන්න පුළුවන්. මෙතනදි කියන්න යන්නෙ ලොව්තුරා බුදු පියාණන් වහන්සේ පවා අනුමත කළ, උන්වහන්සේ පෑ දේශනා ප්‍රාතිහාර්ය ගැන. මේ කාලෙ තිබ්බ්ච ලොකුම ගැටළුව තමයි උන්වහන්සේ දේශනා කරපු බණ දහම බුදු බණද කියන එක. කොටින්ම උන්වහන්සේ ඒ දහම් දේශනාවලට යොදාගත් පද නිරුක්ති ක්‍රමය සමහර අයගෙ දෝෂාරෝපණයටත් ලක් වුනා. නමුත් එහෙම දෙයක් බුද්ධ සාසනයේ නැත්ද?

උද්දේස, නිද්දේස, පටිනිද්දේස කියල ලොව්තුරා බුදුන් වහන්සේ බණ දේශනා කරන ක්‍රමයක් තියෙනවා. මේ උද්දේස කියල කියන්නෙ මාතෘකාව දේශනා කිරීම. නිද්දේස කියන්නෙ ඒ මාතෘකාව කෙටියෙන් විස්තර කිරීම. පටිනිද්දේස කියන්නෙ කෙටි විස්තරය තවත් කඩල විග්‍රහ කරල දෙන එක. මේ විග්‍රහ කිරීම් කරන්න පද කඩල විග්‍රහ කරන ක්‍රමයට තමයි පද නිරුක්ති කියල කියන්නෙ. ඒක ඉතාම දුර්ලභ ඥානයක්. මේ ඥානය නිසා වහරක අභයරතනාලංකාර හිමියන් පෑ ප්‍රාතිහාර්යන් බොහොමයි. මේ වෙනකොට නොතේරෙන වචනවලින් සංකීර්ණ වෙලා යටපත් වෙලා තිබ්බ්ච ඒ දහම ඉතාමත් සරල විදිහට හේතු වාසනාවන්තයින් අතරට ගෙනියන්න උන්වහන්සේට පුළුවන් වුනා. නමුත් ඒ කාරණය තේරුම් ගන්න බැරිව අපවාද කරගත්ත අයත් මේ ලෝක සම්මත ගිහි පැවිදි බෞද්ධ අය අතර හිටියා.

සැරියුත් මහ රහතන් වහන්සේ උන්වහන්සේගෙම නිරුක්ති පටිසම්භිදා ඥානය ගැන කියපු අවස්ථාවක් පෙළ දහමේ සඳහන් වෙනවා. "ඇවැත්නි, උපසපන් අඩමස් ඇති මා විසින් නිරුක්ති පටිසම්භිදාව කරුණු විසින් අකුරු විසින් ප්‍රත්‍යක්ෂ කරන ලදු. මම එය නන් ආරෙන් කියමි. දෙසමි. දන්වමි. තබමි. විවරණ කෙරෙමි. බෙදමි. ප්‍රකට කෙරෙමි. යමක් හට සැකයෙක් හෝ විමතියෙක් හෝ වේද හේ මා කරා ප්‍රශ්නයෙන් එළඹේවා. මම ප්‍රශ්න ව්‍යාකරණයෙන් ඔහු සිත් ගනිමි." (<u>සාරිපුත්ත පටිසම්භිදා සූත්‍රය</u> - අංගුත්තර නිකාය 2 - 311 පිටුව)

ඉතින් වහරක අභයරතනාලංකාර හාමුදුරුවොත් ඔය ක්‍රම රටාවටම ප්‍රශ්නවලට පිළිතුරු දුන්න හැටි උන්වහන්සේගෙන් බණ අහපු බොහොමයක් පින්වතුන් දන්නවා. අහන ඕනම ප්‍රශ්නයක් ලෞකික වේවා, ලෝකෝත්තර වේවා, කිසිම පෙර සූදානමක් නැතිව ඒ අවස්ථාවෙම, පෙර වැඩ හිටපු ආර්ය උත්තමයන් වහන්සේලා දේශනා කරපු ආකාරයට නොයෙක් අයුරින් පද බෙදල ඒ ඒ අයට තේරෙන විදිහට සිත් ගන්නා සුළු විදිහට දේශනා කරල තියෙනවා. ඒ වගේ කරපු දේශනා ඕන තරම් තියෙනවා. ඒ වගේම තමයි උන්වහන්සේ කරපු දේශනා හරිද වැරදිද කියල පොඩි හෝ සැකයක් තියෙනව නම්, ධර්මයේ සංදිට්ඨික ගුණය නිසා තමන් තුලින්ම හොයාගන්න, ලොව්තුරා බුදුන් වහන්සේම දේශනා කරල තියෙන ක්‍රමය යොදාගන්න පුළුවන්.

එක්තරා අවස්ථාවක මහා ප්‍රජාපතී ගෝතමී තෙරණින් වහන්සේ ලොව්තුරා බුදුන් වහන්සේ හමුවට ඇවිත් මෙහෙම ප්‍රශ්නයක් අහනවා. "වහන්ස, මම භාග්‍යවතුන්ගේ යම් දහමක් අසා (කාය ගණ ආදියෙන්) වෙන් වූයෙම් නොපමා වූයෙම් වැර ඇතියෙම් නිවනට මෙහෙයූ සිතැතියෙම් වෙසෙම්ද, භාග්‍යවතුන් වහන්සේ සැකෙවින් ඒ දහම් දෙසන සේක් නම් මැනව. (<u>සංක්ෂිප්ත ගෝතමියෝවාද සූත්‍රය</u> - අංගුත්තර නිකාය 5 - 233 පිටුව). ඉතින් එතුමිය අහපු ප්‍රශ්නය තමයි, අප්‍රමාදී වෙන්න පුළුවන්, නිවනට යොමු කරගන්න පුළුවන් යම් දහමක් තියෙනව නම් ඒ දහම කෙටියෙන් කියන්න කියල. එහෙම කෙටියෙන්

කියන්න ක්‍රමයක් තියෙනවද කියලයි ඇහුවෙ.

ලොව්තුරා බුදුන් වහන්සේ දුන්න පිළිතුර තමයි "ගෝතමිය, තෙපි මේ දහම් සරාගය පිණිස වැටෙත්, විරාගයට නො වැටෙත්, සංසාර සංයෝගයට වැටෙත්, විසංයෝගයට නො වැටෙත්, සසර වඩනට පවතිත්, නො වඩනට නො පවතිත්, මහිච්ඡතා පිණිස පවතිත්, අප්පිච්චතා පිණිස නො පවතිත්, අසන්තුට්ඨිය පිණිස පවතිත්, සන්තුට්ඨිය පිණිස නො පවතිත්, සංඝනිකාව පිණිස පවතිත්, ප්‍රවිවේකය පිණිස නො පවතිත්, කුසීත භාවය පිණිස පවතිත්, වීර්යාරම්භය පිණිස නො පවතිත්, දුෂ්පෝෂණය පිණිස පවතිත්, සුපෝෂණය පිණිස නොපවතිත් යයි යම් දහමුන් දන්නෙහිද, ගෝතමිය, ඒකාන්තයෙන් මේ දහම නොවෙයි, මේ විනය නොවෙයි, මේ සාස්තෘ සාසනය නොවෙයි දරව.

ඉතින් මේ පිළිතුර අනුව අපටම දැනගන්න පුළුවන්, යම් දහමකින් රාගය, ද්වේශය, මෝහය වැඩෙනව නම්, සසර ගමන තව තවත් වැඩි වෙනව නම්, තව තවත් කම්මැලි කරනව නම්, වීර්යක් වඩන්න උත්සාහයක් දරන්න හිතෙන්නෙ නැත්නම්, අකුසල් කරන්න හිතෙනව නම්, ඒ දහම බුදුන් වහන්සේ දේශනා කළ දහම නෙවෙයි, සාසනය නෙවෙයි කියල. ඒ වගේ දහම් කෙලින්ම ප්‍රතික්ෂේප කරන්න කියලයි උන්වහන්සේ දේශනා කළේ. ඉතින් ඔය කාරණයේ අනෙක් පැත්ත තමයි නියම බුදු දහම. ඒ නිසා මෙතෙක් කලක් වහරක අභයරතනාලංකාර හිමියන් දේශනා කළ දහම බුදු දහමද නැත්ද කියල ලේසියෙන්ම තෝරගන්න පුළුවන්, කාගෙන්වත් අහන්න දෙයක් නෑ. රාග, ද්වේශ, මෝහ අඩු වෙන බව තමන්ටම වැටහෙනව නම්, ඒ තමයි උන්වහන්සේ පෑ මහා දේශනා පෙළහර.

ඒ අනුව උන්වහන්සේගේ මහා ඥානයන් අපට අනුමානයෙන් තෝරගන්න පුළුවන්. උන්වහන්සේ සතුව තිබ්බ්ච සිවුපිළිසිඹියා ඥානයන් ගැන, පද නිරුක්ති ඥානයන් ගැන, පටිභාන කවිත්වය ගැන, ශ්‍රාවකයන් වහන්සේලාට ගෝචර විවිධ ලෞකික / ලෝකෝත්තර ඥානයන් ගැන සැකයක් හිතෙන්න විදිහක් නෑ. තමන්ගෙ අත්දැකීම මෙහෙම නම්, ඒ දහම කියල දුන්න උත්තමයා ගැන කවර කතාද? උන්වහන්සේ නිවී සැනසිච්ච උත්තමයෙක් කියල කාගෙන්වත් අහන්න ඕනද? ඒ ගැන සැකයක් තියෙන්න පුළුවන්ද? උන්වහන්සේ පෑ මහා දහම් පෙළහර ගැන තවත් මොන කතාද?

අපට නිවන් දකින දහම මතු කරල කියල දීල අපේ ඇස් පාදපු වහරක අභයරතනලංකාර හිමියන්ට අපෙන් වෙච්ච ණය මේ දහම් පඬුරෙන් අංශු මාත්‍රයක් හෝ අඩු වේවා, ඒ ණය ගෙවේවා !

*ත්‍රිපිටක පෙළ දහම ඇසුරෙන් සකස් කළේ:*

**ෆික්රි ඉස්මයිල්**
**පරිගණක ඉංජිනේරු**
**ගොතටුව**
**076-3446839**



# රූපස්කන්ධය තුලින් අසුභය දැකීම

අසුභ භාවනාව කියල දෙයක් ධර්මයේ සඳහන් වෙනවා. ඒ තුලින්, දුටු නිවන පූර්ණ කරගන්න පුළුවන් කියලත් සඳහන් වෙනවා. ඒ කියන්නෙ අනිච්ච, දුක්ඛ, අනත්ත දකින ක්‍රමවේදයක්. මේක තමයි අද පිළිකුල් භාවනාව කියල හඳාගෙන තියෙන්නෙ. අසුභ භාවනාව, ද්වාතිංසාකාර භාවනාව කියල පෙන්වපු එකම තමයි අද මේ පිළිකුල් භාවනාව, එහෙම නැත්නම් දෙතිස්කුණුප භාවනාව කියල හඳාගෙන තියෙන්නෙ.

අපි ලෝකයේ සුභ දේවල් තියෙනව කියල හිතාගෙන ඉන්නවා. ඒ දේවල් නිසා තමයි ලෝකයත් එක්ක අපි බැඳෙන්නෙ. ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියල අපිට ඉන්ද්‍රියන් 6 ක් තියෙනවා. ඉස්සෙල්ලම අපිට දැනෙන්නෙ ඇහැට ගැටෙන දේවල්. ඒව තමයි මූලික වශයෙන් සුභ දේවල් කියල අපි ගන්නෙ. ඊට පස්සෙ කනට ඇහෙන දේවලුත් අපි සුභ වශයෙන් ගන්නවා. එතකොට **ඇස් අන්ධ කෙනෙක් ඇහැ වෙනුවට පාවිච්චි කරන්නෙ කන. අපි කතාවට කියන්නෙත් ඇහැ කන වුනා කියල. ඒ කියන්නෙ දැන් ඇහැ නැති නිසා, ඇහෙන් ලෝකය ස්පර්ශ කරනවා වෙනුවට කනෙන් තමයි ලෝකය ස්පර්ශ කරන්නෙ. ඇහෙන් ගන්න ප්‍රයෝජනය කනෙන් ගන්න නිසා තමයි ඇහැ කන වුනා කියල කියන්නෙ.** අපි හිතාගෙන ඉන්නෙ කන වුනා කියන එක අන්ධ වුනා කියන අදහසින් කියපු එකක් කියල. හැබැයි මේ හේතුව නිසා තමයි අන්ධ වුනාම ඇහැ කන වුනා කියල කියන්නෙ.

ඇත්තටම ඇහැයි කනයි දෙකම පාවිච්චි කරන්න බැරි නම්, ඒ පුද්ගලයට ලෝකයේ ජීවත් වෙන්න මූලික දත්තයන් ලබාගන්න විදිහක් නෑ. දෙකෙන් එකක් අනිවාර්යෙන්ම තියෙන්න ඕන. ඒ නිසා උප්පත්තියෙන් (මව් කුසකට ඇතුළු වීමටත් පෙර සිදුවන පටිසන්ධියෙන්) ඇහැයි කනයි දෙකම අහිමි අය ලෝකයේ දකින්න ලැබෙන්නෙ නෑ. ඒ කියන්නෙ ජාති අන්ධ - බිහිරි කියන අය නෑ. හැබැයි උප්පත්තියෙන් පසුව නම් ප්‍රවෘත්ති විපාක වශයෙන් කෙනෙකුට ඒ දෙකම අහිමි වෙන්න පුළුවන්. නමුත් මේ අවස්ථා දෙකේ වෙනසක් තියෙනවා. ඒ කියන්නෙ උප්පත්තියෙන් පසු අවස්ථාවකදි ඇහැයි කනයි දෙකම නැති වුනත්, ඒ සත්ත්වයාට ඒ වෙනකොට ලෝකය පිළිබඳ යම් කිසි දැනීමක් / වැටහීමක් ලැබිල තියෙන්නෙ. ඒ නිසා ලෝකයේ වැඩ කටයුතු යම් තාක් දුරකට කරගෙන යන්න හැකියාව තියෙනවා. මේ අනුව ඇහෙනුයි කනෙනුයි තමයි මූලිකව සත්ත්වයා ලෝකය ස්පර්ශ කරන්නෙ.

අපි අසුභ දෙයක් සුභයි කියල ගන්නෙ විපරීත සංඥාවකින්. ඒකට කියනවා, අසුභයේ සුභ විපල්ලාසය කියල. විපල්ලාස කිව්වෙ පාළියෙන්. අපි පුරුදු වෙලා තියෙන්නෙ විපර්යාස කියන්න. හැබැයි විපර්යාස කියන්නෙ සංස්කෘතයෙන්. සිංහලෙන් කියන්නෙ විපරීත කියල. මේකෙනුත් පේනවා, අපි සිංහලට වඩා සංස්කෘත තමයි අද සිංහල කියල භාවිතා කරන්නෙ කියල. අනිත් විපල්ලාස තමයි අනිච්ච නිච්චයි කියල ගැනීමත්, දුක සුඛයි කියල ගැනීමත්, අනත්ත අත්තයි කියල ගැනීමත්. මේ හතරවෙනි එක තමයි අසුභයේ සුභ විපල්ලාසය කියල කියන්නෙ. විපරීතයක් කිව්වෙ, නියාමාකාරයෙන් නැතුව වැරදි ආකාරයෙන් ගැනීම. මේක මුල් කරගෙන අපි විඤ්ඤාණ පහළ කරගන්නවා. සංඛාර කිරීම තුලින් ඒවා බලවත් කරගන්නවා. දැන් අපි බලන්න ඕන, මේ විපරීත දෘෂ්ටියට හේතුව මොකක්ද කියල.

අපි යමක් ඇහෙන් දකින කොට ප්‍රියයි, මනාපයි, ලස්සනයි කියල හැඟීමක් එනවා. ලස්සනයි කිව්වෙ, ළය + අස් + න - ළයෙන් ඇසුරු කිරීමේ න්‍යාය. පටිසන්ධියෙන් අපි ගෙනාපු ගතිය සහ අපි මෙතෙක් කල් හදාගත්ත විඤ්ඤාණ තුලින් තමයි ඒ හැඟීම විපාකයක් විදිහට අපට දැනෙන්නෙ. හැබැයි ඒක නැවත නැවතත් ඇසුරු කරන්න ඕන කියල ඒ තුල සැරිසැරීමට තමයි රාග කියල කියන්නෙ. එහෙම නැත්නම් විපාක වශයෙන් ආපු සුඛය නැවත නැවත බලාපොරොත්තු වීම. ඒ කියන්නෙ ආපු අරමුණ හොඳයි, වටිනවා, සාරයි කියල අවිද්‍යාවෙන් අභිසංඛාර කිරීම. ඒක තමයි අලුතින් නිර්මාණය කරන දේ. ඒක තමයි අපිව සසර ගමනෙ අරගෙන යන්නෙ. මොකද අපිට නැවත නැවත විඳීමේ බලාපොරොත්තුවක් තියෙනවා. දැන් අපි රූපයක් බලල ප්‍රියයි මනාපයි කියල සුභ සංඥාවෙන් ගන්නෙ අපේ තියෙන විපරීත දෘෂ්ටිය නිසා. ඒක ඇත්තටම සුභ දෙයක්ද අසුභ දෙයක්ද කියල බලන්න ඕන. **අපිට ලෝකයෙන් මිදෙන්න බැරි, ලෝකයේ යමක් ඇසුරු කරනකොට ඒක නැවත බලාපොරොත්තු වීම නිසා.** ඒ කියන්නෙ තණ්හා වීම, උපාදාන කිරීම, ඡන්ද රාගය, ආසාව, ඉච්ඡාව නිසා. මේක තමයි දුක හට ගන්න හේතුව. දැන් මේ ඇත්ත දැක්කම දුක හටගන්න හේතු නිරෝධ වීම තුලින් තමයි දුකෙන් මිදෙන්න පුළුවන් වෙන්නෙ.

අපි ලෝකයට බැඳෙන්නෙ රූපයක් මුල් කරගෙන. රූපයක් නැත්නම් බැඳෙන්න විදිහක් නෑ. රූප හය ආකාරයක් තියෙනවා. ඇහැට පේන්නෙ වර්ණ රූප. කනට ඇහෙන්නෙ ශබ්ද රූප. නාසයට දැනෙන්නෙ ගන්ධ රූප. දිවට දැනෙන්නෙ

රස රූප. කයට දැනෙන්නෙ පොට්ඨබ්බ රූප. මනසට දැනෙන්නෙ අනිදස්සනං අප්පටිඝං ධම්මායතන පරියාපන්න රූපං කියන මනෝ සටහන්. ඒවා දකින්නෙ ඇහෙන් නෙවෙයි මනසින්. ඒවට ධම්ම රූප කියල කියනවා. දැන් අපිට හිතෙන්න පුළුවන්, අන්ධ වෙච්ච කෙනෙක් කොහොමද රූප තුලින් විඤ්ඤාණ පහළ කරගන්නෙ කියල. රූප කියල කිව්වම ඇහැට පේන රූප විතරක් නෙවෙයි ගන්නෙ. ඉහතින් කිව්ව ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධම්ම කියන ඒවටත් කියන්නෙ රූප කියලම තමයි. එතකොට රූප හය ආකාරයි. ඔය රූප හය ආකාරය ගෝචර කරගෙන ආස්වාද විඳින්න තමයි අපට ඉන්ද්‍රියන් 6 ක් ලැබිල තියෙන්නෙ. ලෝකයේ කිසිම දෙයක් හේතුවක් නැතුව හටගන්නෙ නෑ. ඉන්ද්‍රියන් හයක් ලබන්න මූලික හේතුව ඕකයි.

රුප්පතීති රූපං, ලුජ්ජති පලුජ්ජතීති රූපං... ආදී වශයෙන් පෙළ දහමේ රූප විස්තර වෙනවා. දැන් සිංහල අර්ථය විදිහට දක්වල තියෙන්නෙ, කැඩෙන බිඳෙන විනාස වෙන නිසා රූප කියන අර්ථය. හැබැයි ඒ සිංහල අර්ථය ගැලපෙනව කියල හිතන්න අමාරුයි. රූප කියන එකට විවිධ නිරුක්ති පෙළවල තියෙනවා. රූ ඔප් නැංවෙන නිසා රූප කියල මේකට නිරුක්තියක් දෙන්න පුළුවන්. රූනා කියල වචනයක් තියෙනවා. ඒක යම් කිසි කැරකෙන බඹරයකට කියන නමක්. අපි "රූ" කියල කියන්නෙ මොකටද? යමක් කැරකෙනවට, චලනය වෙනවට, නැත්නම් කම්පනය වෙනවට "රූ" කියනවා. රූං පෙත්ත කියල කියන්නෙ යම් කිසි කැරකෙන දෙයකට. රූ කියන ශබ්දයේ තියෙන්නෙ කැරකෙනවා කියන එකට ගති හඬක්. යමක් වේගයෙන් කම්පනය වෙනකොට එන්නෙ රූං කියන හඬ. මෝටරයක්, එහෙමත් නැත්නම් යන්ත්‍රයක් පණ ගන්වනකොට රූං කියල හඬකින් තමයි පටන් ගන්නෙ. කාර් එකක් යනකොට පොඩි ළමයි කියන්නෙ රූං කියල ගියා කියල. එතකොට යමක් කැරකෙන කොට, චලනය වෙනකොට, කම්පනය වෙනකොට අපට යමක් ඔප් නැංවිලා පේනවා. රූ ඔප් නැංවුනාම අපට ගෝචර වෙන දේට රූප කියල කියනවා.

සුද්ධාෂ්ටකය කියන්නෙ අති සියුම්ම රූප කලාපය. සුද්ධාෂ්ටකය නැවතත් වෙන් කරන්න බැරි ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා කියන රූප අටෙන් තමයි නිර්මාණය වෙලා තියෙන්නෙ. නැවතත් බිඳින්න බැරි නිසා සුද්ධාෂ්ටකය අවිනිර්බෝග රූප කලාපය කියලත් හඳුන්වනවා. සුද්ධාෂ්ටකය නිශ්චලව පවතින්නෙ නෑ, අධි වේගයෙන් භ්‍රමණය වෙනවා. භ්‍රමණය වෙන කොට යමක් ඔප් නැංවෙනවා. ඒකාකාරීව නිශ්චලව පවතින සුද්ධාෂ්ටකයක් නෑ. දැන් මේ භ්‍රමණය වෙනකොට ඇතිවන වෙනස මොකක්ද?

මේ කාරණය උදාහරණයක් තුලින් ලේසියෙන් තේරුම් ගන්න පුළුවන්. ගිනි පෙනෙල්ලක් ගත්තොත්, ඒක නිශ්චලව තියෙන කොට අපිට ගිනි වළල්ලක් පේන්නෙ නෑ. අපි ගිනි පෙනෙල්ල වේගයෙන් රවුමට චලනය කළොත් අපිට කලින් නොතිබුණු ගිනි වළල්ලක් පේනවා. දැන් මෙතනදි සත්‍ය වශයෙන්ම ගිනි වළල්ලක් නැති බව අපි දන්නවා. ඇත්තටම තියෙන්නෙ ගිනි පෙනෙල්ලක් වේගයෙන් චලනය වන ක්‍රියාවලියක්. ගිනි පෙනෙල්ල චලනය වන හේතුවේ ඵලය විදිහට ගිනි වළල්ලක් ඔප් නැංවිලා පේනවා. රූ හෙවත් චලනයක් ඔප් නැංවිලා ගිනි වළල්ල නමැති රූපයක් විද්‍යාමාන වෙනවා.

දැන් මේ රූප කිව්වෙ ඇත්තටම තියෙන එකක් නෙවෙයි. මායාවක්. රූ කියල කම්පනය වෙමින් සටහනක් ඔප් නැංවුනා. රූපයක් විද්‍යාමාන වුනා. දැන් අපේ විඤ්ඤාණය තුලින් රූපයක් තියෙනවා කියන දැනීමක් පහළ කරල දෙනවා. විඤ්ඤාණය මායාකාරයෙකුට සමාන කළේ ඒ නිසා. හැම රූපයක්ම හැදෙන්නෙ මේ ක්‍රමයට. මේ කිව්වෙ රූප නෑ කියල එහෙම නෙවෙයි. අපට රූපයක් කියල ගෝචර වෙන්නෙ මොකක්ද කියල තමයි පැහැදිලි කළේ. අද විද්‍යාඥයින් පවා කියන්නෙ, මුළු ලෝකයම හැදිල තියෙන්නෙ කම්පනවලින් කියල (Whole world is vibrations).

සුද්ධාෂ්ටක අධි වේගයෙන් භ්‍රමණය වෙනවා. භ්‍රමණය වෙමින් තවත් ආකාරයකට භ්‍රමණය වෙලා යම් කිසි හැඩ තලයක් ගන්නවා. මේ විදිහට කෝටි ප්‍රකෝටි ගණන් සුද්ධාෂ්ටක එකතු වෙලා කම්පනය වෙමින් නොයෙක් හැඩ තල ගන්නවා. අන්න එහෙම එකතු වෙලා කම්පනය වෙන සුද්ධාෂ්ටකවලින් ඔප් නැංවෙන යමකට තමයි අපි රූප කියන්නෙ. ඒවා ඇහැට ගෝචර වෙන්නෙ වර්ණ මාත්‍ර විදිහට. තවත් කම්පන ආකාරයක් ශබ්දය විදිහට කනට ගෝචර වෙනවා. තවත් ආකාරයක් සියුම් අංශු විදිහට කම්පනය වෙමින් නාසයේ ස්පර්ශ වීම තුලින් ගන්ධයක් විදිහට ගෝචර වෙනවා. අනෙකුත් කම්පන ආකාර දිවට රස විදිහටත්, කයට ස්පර්ශ විදිහටත් ගෝචර වෙනවා. මේ විදිහට **විවිධ ආකාරයෙන් කම්පනය වෙන හැඩ තල එකම ඉන්ද්‍රියකින් ගන්න බැරි නිසා අපට ඇහැ, කන, නාසය, දිව, ශරීරය කියල ඉන්ද්‍රියන් පහක් පිහිටල තියෙනවා.** මේ පංච ඉන්ද්‍රියන් තුලින් ගන්න සටහන් මනෝ සටහන් විදිහට මනසට ගෝචර වෙනවා. මේ ක්‍රමයට තමයි කම්පනය වීමක් ඔප් නැංවිලා අපට රූපයක් විදිහට අරමුණු වෙන්නෙ.

සුද්ධාෂ්ටකය නමැති රූප කලාප නිපදවෙන්නෙ අපේ චේතනාවලට අනුව මනසින්මයි. ඒවායේ භ්‍රමණ චක්‍ර කැරකෙන්නෙත් අපි ගත්ත අදහස්වලට අනුකූලව. මනසින් නිපදවෙන රූප කලාපවලට චිත්තජ රූප කියල කියනවා. ඒ වගේම මනසින් ගොඩ නගපු කර්ම ශක්තියෙන් ජනනය කරන රූපවලට කර්මජ රූප කියල කියනවා. සියළු රූපවලට මුල මේකයි. මනස ශාන්ත නම් එයින් ජනිත වෙන චිත්තජ රූපත් ශාන්ත ස්වභාවයක් ගන්නවා. යම් රූප කලාපයක භ්‍රමණ චක්‍ර කැරකෙන්නෙ ශාන්තව නම්, අපිට ඒ වගේ රූප සුව විදිහට දැනෙනවා. මනස රළු නම්, එතකොට නිපදවෙන රූප කලාප රළු ස්වභාවයක් ගන්නවා. ඒවා අපට දැනෙන්නෙ දුකක් අසහනයක් විදිහට. මනස මුලා සහගත නම්, එතකොට නිපදවෙන රූප කලාප හැඩයක් ලතාවක් නැතිව නිකං ඔහේ කැරකෙනවා.

උදාහරණයක් විදිහට අපි හිතමු කෙනෙක් තව කෙනෙක්ව අත ගානවා කියල. ඕන නම් සුවයක් දැනෙන විදිහට මෘදු ලෙස අතගාන්න පුළුවන්. එහෙම නැත්නම් පහුරු ගානවා වගේ රළු විදිහට අතගාන්නත් පුළුවන්. ඕන නම් කිසිම රටාවක් නැතිව, ඔහේ එහෙන් මෙහෙන් අතගාන්නත් පුළුවන්. ඒ අතගාපු හැටියට තමයි ස්පර්ශය සුව, දුක්, මධ්‍යස්ථ විදිහට දැනෙන්නෙත්. ශාන්ත නම් සුවයි. රළු නම් කටුකයි, දුකයි. කිසිම රටාවක් නැත්නම් ඒකෙ කිසිම චාරයක් නෑ. පොඩි ළමයෙක්ගෙ ඔළුව ආදරෙන් අත ගැවොත් ඔහුට ඒක සුවයි. ස්පර්ශ කරපු ආකාරය අනුව තමයි දැනීමත් ගොඩනැගෙන්නෙ. අන්න ඒ වගේ ක්‍රම වේදයකට අනුව තමයි ලෝකයේ තියෙන

විවිධ රූප හැඩ ගැහිල තියෙන්නෙත්, සතර මහා භූත කොටස් හැදිල තියෙන්නෙත්.

මෙන්න මේ වගේ, ලෝකයේ තියෙන රූපවල යම් කිසි කම්පන ක්‍රමයක් තියෙනවා. අපේ සිතිවිලි යම් කිසි ගතියක් ගත්තද, ඒ ආකාරයට තමයි ඒවා කම්පනය වෙන්නෙ. සමාන කම්පනවලට සමාන ඒවා ඇදිල එනවා. ඒවා එක ගොඩක් වෙනවා. ඒ ක්‍රම වේදය අනුව තමයි ලෝකයේ විවිධ රූප, නැත්නම් සතර මහා භූත කොටස් එකට එකතු වෙලා හැඩ ගැහිල තියෙන්නෙ. සිත ක්‍රියාත්මක වුන ස්වභාවයට අනුව තමයි ඒවායේ අදාළ ශක්තීන් ගැබ් වෙලා ක්‍රියාත්මක වෙන්නෙ. "මනෝ පුබ්බංගමා ධම්මා" කිව්වෙත් ඒකම තමයි. ලෝකයේ සියල්ල දරන්නෙ මනස පූර්වාංගම වෙලා.

එතකොට රූපයන් පිළිබඳව අපි සුභ සංඥාවෙන් ගන්නෙ ඇයි? අපි රූප සුභයි කියල හිතාගෙන මතු බලාපොරොත්තුවක් ඇති කරගෙන රූප නිර්මාණයේ මුල පටන් ගන්නවා. අපි යමක් නිර්මාණය කරගන්නෙ ආස්වාද විඳින බලාපොරොත්තුවෙන්. මේක තමයි මුළාව. ආස්වාදය කියල දෙයක් ලෝකයේ තියෙනවා කියල සත්ත්වයා හිතාගෙන ඉන්නවා. ඒක හරි සුවයක්, ඒ නිසා නැවත නැවත විඳින්න ඕන කියන බලාපොරොත්තුව ඇති කරගන්නවා. ආස්වාදය හැදෙන්න මුල මොකක්ද කියන යථාර්ථය දකින්නෙ නෑ. මේ කාරණය උදාහරණ උපමා තුලින් තෝරගන්න ඕන. සුභ සංඥාවක් ඇතිවෙලා තියෙන්නෙ මේ හේතුව උඩ. හැබැයි මේ කිව්වෙ, ලෝකයේ ආස්වාදය කියල සුවයක් නෑ කියල එහෙම නෙවෙයි. බුදු පියාණන් වහන්සේ දේශනා කරනවා, **ලෝකයේ ආස්වාදයක් ඇති නිසාම තමයි ලෝක සත්ත්වයා ලෝකයට ඇලිල සසර ගමනක් යන්නෙ කියල.**

ලෝකය ස්පර්ශ කරන කොට සුවයක් එන්නෙ කොහොමද? ලස්සන රූපයක්, මිහිරි හඬක්... ආදී වශයෙන් අපි වින්දනයක් ලබනවා. මන වඩන අරමුණක් එන කොට සුභයි කියල ගන්නවා. යථාර්ථය දකින්නෙ නැතුව සුභ නිගමනය කරනවා. මේ නිගමනයේ ඉන්න තාක් කල් යළි යළිත් ඒවා ඇසුරු කරන්න, එකතු කරගන්න බලාපොරොත්තු වෙනවා. මෙතනදි අපි නොදකින පැත්තක් තියෙනවා. පුංචි උපමාවකින් මේක තෝරගන්න පුළුවන්. කෙනෙක්ගෙ අත් දෙක පිටිපස්සට තියල බැඳල වැරෙන් ඔළුවට ටොක්කක් අනිනවා. දැන් ඔළුව තදින් කැක්කුමයි. දැන් කවුරු හරි ඔළුව අතගානවා. ඔහුට හරි සුවයක් දැනෙනවා. අතගානවට කැමතිද? අනේ ඔව් අතගාන්න හරි සැපයි කියනවා. ටොක්ක රිදෙන නිසා අතගානවට කැමතියි. රිදෙන එක පොඩ්ඩ පොඩ්ඩ අඩුවෙන නිසයි සුවයක් දැනෙන්නෙ. ටික වෙලාවක් අත ගාන කොට ටොක්කෙ වේදනාව




ක්‍රමයෙන් අඩු වෙනව වගේම, දැනෙන සුවයත් ක්‍රමයෙන් අඩු වෙනවා. දැන් අහනවා, මුලින් තිබ්බ්ච සුවය නැවත ගන්න කැමතිද කියල. ඒ ආස්වාදය නැවත ලබන්න නම් නැවතත් හොඳ ටොක්කක් කන්න ඕන. දැන් ඒක දන්න නිසා, ඒ කියන්නෙ අත්දැකීමක් තියෙන නිසා කැමති නෑ.

මේ සැපයේ මුල මොකක්ද කියල අපි දැන් දන්නවා. **අපිට හැම තිස්සෙම සුවයක් දැනෙන්නෙ දුකකින් නිදහස් වෙනකොට.** තදින් රිදෙනව නම්, රිදෙන තැන අත ගාන කොටත් ඒ තරමට සුවයි. ඊළඟ ටොක්ක කෑවෙ නැත්නම් ඒ පෙර ලැබුන සුවය අතගාල ගන්න බැහැනෙ. දැන් ඒ බව දන්න නිසා ඒ සුවය නැවත බලාපොරොත්තු වෙන්නෙ නෑ. දැන් ඒ සුවයේ සැරිසරන්න නැවත කැමැත්තක් නෑ. ඒ කියන්නෙ ඒ කෙරෙහි රාගයක් ඇතිවෙන්නෙ නෑ. මොකද ඇත්ත දැකපු නිසා. ඒක සුභයි කියල දැන් ගන්නෙ නෑ. සුවයක් තිබුන බවත් ඇත්ත. හැබැයි දැන් ඒක සුභ වශයෙන් නැවත බලාපොරොත්තු වෙන්නෙ නෑ. ඒ ඇයි? මොකද එතන තිබුනෙ ටොක්ක නිසා ඇතිවුන කටුක වේදනාවයි, ඒක අඩු වෙන්න කරපු කාය සංඛාරයකුයි විතරයි. ඒ කියන්නෙ දුක් දෙකක්. ටොක්ක නිසා හට ගත් කටුක වේදනාව මහා පෙලීමක්. ඒක දුක්ඛ දුක්ඛය. අත ගාන එක සංඛාර දුක්ඛය. මොකද ඒකට වෙහෙසෙන්න ඕන. ඒකත් දුකක්. හැබැයි අතගාන කොට දැනෙන සුවය නිසා මේ දුක වැහෙනවා, සැපක් විදිහට වැටහෙනවා.

මේ සම්බන්ධයෙන් තවත් උදාහරණයක් අරගෙන බලමු. අම්ම කෙනෙකුට තමන්ගෙ පුතා දැක්කම සුවයි. පුතා කියන්නෙ අම්මට ප්‍රිය මනාප වස්තුවක්. හැබැයි හැම තිස්සෙම ළඟ ඉන්නකොට නම් ගානක් නෑ. මේ සුවය වැඩි කරල දෙන්න නම් මොකද කරන්න ඕන? පුතාව කොහේ හරි හංගනවා. කාට හරි කොන්ත්‍රාත්තුවක් දීල ළමයව පැහැර ගන්න සලස්වනවා. දැන් අම්ම ළමයව හැම තැනම හොයනවා. හොඳටම බය වෙනවා. කාලය ගත වෙන්න ගත වෙන්න දුක වැඩි වෙනවා. දැන් ළමයව හංගපු තැනින් නිදහස් කරල ගෙදර එවනවා. දැන් තමන්ගෙ පුතා දැක්ක ගමන් අම්මට පුදුම සතුටක්. පුතාව සිප වැළඳ ගන්නවා, අත ගානවා, හරිම සතුටක්. ටික වෙලාවකින් නැවතත් සාමාන්‍ය තත්ත්වයට පත්වෙනවා. දැන් ඒ අම්මගෙන් අහනවා, ඒ සතුට නැවත ගන්න කැමතිද කියල. දැන් කැමති වෙයිද? ඒ සතුට නැවත ගන්න නම් ළමයව නැවතත් පැහැර ගැනීමකට ලක් වෙන්න ඕන. අම්මට ඒක මහා දුකක්. දැන් ඒ සැප ආපු විදිහ දන්න නිසා ඒ සැප නැවත බලාපොරොත්තු වෙන්නෙ නෑ.

දැන් මේ උදාහරණයෙදි අම්ම ළමය කෙරෙහි ඡන්ද

රාගයෙන් බැඳිල හිටපු නිසා තමයි මුලින්ම පැහැර ගත්ත අවස්ථාවෙ දුකක් ඇති වුනේ. ඡන්ද රාගය නොතිබුනා නම් දුකක් නෑ. ඡන්ද රාග නිරෝධය කියන්නෙ දුක්ඛ නිරෝධය. ඒක තමයි නිවන. එහෙම නැත්නම් නිවන් සැප කිව්වෙ දුකින් මිදීමට. නිවන් සැප කියන්නෙ වේදනා චෛතසිකයෙන් විඳින එකක් නෙවෙයි. දැන් ළමයව නැවත හම්බවුන අවස්ථාවෙ ඒ අම්ම මහා ආස්වාදයක් ලැබුවා. එතනදි මොකද වුනේ, ළමයා නැතිව හිටපු කාලය තුල විඳපු දුක එක පාරටම නිදහස් වුනා. සාමාන්‍ය පෘතජ්ජන ලෝකයා සැප විඳිනව කියල කියන්නෙ ඔන්න ඕකට තමයි. ඒක වේදනා චෛතසිකයෙන් විඳින තාවකාලික සැපක්. නිවන කියන්නෙ සදාකාලික සැප. නිවන් සැප කියන්නෙ සියලු දුකින් නිදහස් වුනාම එන සැපය. හැබැයි එතන වේදනා චෛතසිකයෙන් විඳින්නෙක් නෑ. මේක හරි සියුම්ව තේරුම් ගන්න ඕන.

**දුකක්, පෙළීමක් ගොඩ නැගෙන්නෙ නැතිව සැපක් විඳින්න විදිහක් නෑ. එතකොට ආස්වාදය කියන්නෙ මොකක්ද? අපි යම්කිසි පෙළීමකට පත්වෙනවා. ඒක සමනය කරගන්න යම් කිසි ක්‍රියාවලියක් කරනවා. පෙළීම නතර කිරීමේ ක්‍රියාවලිය තුලින් ආස්වාදයක් ලැබෙනවා.** පෙළීම කියන්නෙ දුක්ඛ දුක්ඛය. ඒ කියන්නෙ දුකක් උඩ හටගන්න දෙවෙනි දුක. මේ කය කියන්නෙ එක දුකක්. කය දුකක් වෙන්නෙ කොහොමද? මේ කය නිසා විඳින්න වෙන ඔක්කොම දුක් අපි දන්නවා. සීතලෙන්, උෂ්ණයෙන්, බඩගින්නෙන්, පිපාසයෙන්, මළ මුත්‍ර බරින්, ලෙඩ රෝගවලින්, නොයෙක් ආකාරයේ රිදීම් කැක්කුම් හිරිවැටීම්වලින් මේ කය පෙළෙනවා. හුස්ම ගන්න ඕන. නැවත පිට කරන්න ඕන. හුස්ම නොගෙන ඉන්නත් බෑ. පිට කරන්නෙ නැතුව ඉන්නත් බෑ. නතර නොකර එක දිගට මොහොතක් පාසා ඒක කරන්න ඕන. ඇස් දනකොට ඇස් පිල්ලන් ගහන්න ඕන. එක විදිහකට ටික වෙලාවක් ඉන්න කොට කැක්කුමයි, අනෙක් පැත්තට හැරෙන්න ඕන. එක දුකක් විඳ විඳ ඉන්න කොට තව දුකක් ගොඩ නැගෙනවා. මේ විදිහට දුක් පිට දුක් එන නිසා දුක්ඛ දුක්ඛය කියල කියනවා. පෙළීම ගොඩ නැගෙනකොට ඒක නවත්ව ගන්න ක්‍රියාකාරකමක් කරන්න ඕන. ඒකට කියනවා සංඛාර දුක කියල. දුක්ඛ දුක්ඛය යම් තරමක් සමනය කරගන්න, සංස්කරණය කර කර දුක් විඳින්න ඕන. මෙහෙම ක්‍රියාවලියක් තුලින් තමයි අපි සැප විඳිනවයි කියන්නෙ.

එතකොට මේ ක්‍රියාවලිය නැගෙන්න හේතුව මොකක්ද? **යම් පෙළීමකට පත් වෙලා ඒක සමනය කරගන්න කරන ක්‍රියාවලිය තුල ඇතිවන වෙනස, එහෙම නැත්නම් ඒ පෙළීමෙන් ඇතිවුන දුකෙන් නිදහස් වීම අපිට දැනෙන්නෙ සුවයක් හැටියට. අන්න ඒ සුවය නැවත නැවත විඳින්න බලාපොරොත්තුවක් ඇති කරගන්නවා. ඒක මතු මතුත් විඳින්න හොඳ, සාර වටින එකක් කියල අදහස් ගන්නවා. මේ බලාපොරොත්තුව හරියට අර ටොක්ක කෑවට පස්සෙ අතගාන කොට ලැබුන සුවය නැවත බලාපොරොත්තු වෙනව හා සමාන දෙයක්. ඒ කියන්නෙ ඒ සුවය ගන්න නම් නැවත නැවත ටොකු කන්න ඕන.** නමුත් ටොක්කෙ සිද්ධිය දන්න නිසා නැවත ඒක බලාපොරොත්තු වෙන්නෙ නෑ. නැවත නම් ඕන නෑ කියනවා.

හැබැයි ඒක දන්නෙ නැත්නම්, ඒ කියන්නෙ පෙළීමට හේතුව දන්නෙ නැත්නම් මොකද වෙන්නෙ? ඒ සුවය නැවත නැවත බලාපොරොත්තු වෙනවා. පෙළෙන්න හේතුව දකින්නෙ නැතුව ප්‍රතිකර්මය සුවයි කියල විතරක් දකිනවා. හැබැයි යථාර්ථය අවබෝධ වුන දාට දකිනවා, මහා පෙළීමක් තියෙනවා ඒක මහා දුකක්, මේ පෙළීම ගොඩ නැගෙන නිසා තමයි ඒකට ප්‍රතිකර්ම කරල සමතුලිත වෙනකොට සුව එන්නෙ කියල. මේක අවබෝධ වුන දාට දැනගන්නවා, ආස්වාදය කියන්නෙ මොකකටද කියල. එදාට දැනගන්නවා, මේ මහා පෙළීම නැත්නම් ඒ මහා දුකෙන් නිදහස් බව. එතකොට ලෝකයේ නැවත සැරිසරන බලාපොරොත්තුව බිඳිල යනවා. ඒ කියන්නෙ රාග විරාග වෙනවා. මේ ආස්වාදය නිසා තමයි සත්ත්වයා ලෝකයේ සැරිසරන්න කැමැත්තක් ඇති කරගන්නෙ. **ලෝකයේ සැරිසරනවා කියන්නෙ දුකක්ම ගොඩ නැගීමක්. ඒ නිසා තමයි කිව්වෙ, ආස්වාදය කියන්නෙ දුක්ඛ සමුදය, එහෙම නැත්නම් දුකට හේතුව කියල.** ආස්වාදයක් කියල එකක් නැත්නම් සත්ත්වයාට ලෝකෙ සැරිසරන්න හේතුවක් නෑ. එතකොට දුකට වැටෙන්නෙත් නෑ.

එහෙනම් දැන් බලන්න ඕන මේ කය සුභද, අසුභද කියල. ඉස්සෙල්ලම දකින්න ඕන කය පිළිබඳව. මොකද ඒක තමයි රූපයන්ට මුල වෙන්නෙ. බාහිරින් රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කොච්චර තිබුනත්, මේ සවිඤ්ඤාණක කය නමැති මූල නැත්නම් ඒවා විඳින්න ලැබෙන්නෙ නෑ. සවිඤ්ඤාණක කය කිව්වෙ අධ්‍යාත්මික කායට. බාහිර කාය හෙවත් බාහිර රූප සමග අධ්‍යාත්මික කායත් ගැලපිලා බැඳීමෙන්, ඒ කියන්නෙ පටිච්ච වීමෙන් තමයි සුඛයක් හෝ දුකක් හට ගන්නෙ. සුඛයක්, සෝමනස්සයක් හට ගත්තම අපි කියනවා ආස්වාදයක් හට ගත්ත කියල. බාහිර රූපවල ආස්වාද නැත **කිව්වොත් ඒක ධර්මයට ගැලපෙන්නෙ නෑ. එහෙනම් අධ්‍යාත්මික රූපවල ආස්වාද ඇත කියල ගන්න වෙනවා. මේ දෙකම ධර්මයට ගැලපෙන්නෙ නෑ. මොකද ඇත නැත කිව්වෙ අන්ත දෙක. බුදු පියාණන් වහන්සේ දේශනා කළේ, ඇත නැත අන්ත දෙකට වැටෙන්න එපා කියල. ආස්වාදයක් විඳින්න නම්, අධ්‍යාත්මික කාය සහ බාහිර කාය කියන දෙකම අවශ්‍යයි. මොකද අධ්‍යාත්මික කාය තිබුනට බාහිර කාය නැත්නම් කොහොමද අපි යමක් විඳින්නෙ? අධ්‍යාත්මික කායයි බාහිර කායයි පටිච්ච වීමෙන් තමයි හේතු ඵලයක් විදිහට ආස්වාදය හෝ දුක හෝ හට ගන්නෙ. ඒ කියන්නෙ සුඛ හෝ දුක පටිච්ච සමුප්පන්නව හට ගන්නවා.**

සංයුක්ත නිකායේ 2වන කාණ්ඩයේ 37 වන පිටුවේ එන තිම්බරුක සූත්‍රයේ තිම්බරුක පිරිවැජියාට සුව දුක් හට ගන්නෙ කොහොමද කියල පහදල දෙනවා. එතනදි තිම්බරුක පිරිවැජියා බුදු පියාණන් වහන්සේගෙන් විමසනවා, සුව දුක් තමන් හදා ගන්නවද එහෙම නැත්නම් අනුන් හදල දෙනවද කියල. ඒ සූත්‍රයේ සිංහල අනුවාදයේ මේ විදිහට සඳහන් වෙනවා.

"භවත් ගෞතමයෙනි, කිමෙක්ද, සුව දුක් තමා විසින් කරන ලද දැ" යි මෙසේ විචාරණ ලද විට "තිම්බරුක, එසේ නොකියව" යි කියති. "භවත් ගෞතමයෙනි, කිමෙක්ද, සුව දුක් මෙරමා විසින් කරන ලද දැ" යි මෙසේ විචාරණ ලද විට "තිම්බරුක, එසේ නොකියව" යි කියති. "භවත් ගෞතමයෙනි, කිමෙක්ද, සුව දුක් තමා විසිනුත් මෙරමා විසිනුත් කරන ලද දැ" යි මෙසේ විචාරණ ලද විට "තිම්බරුක, එසේ නොකියව" යි කියති. "භවත් ගෞතමයෙනි, කිමෙක්ද, සුව දුක් තමා විසිනුත් මෙරමා විසිනුත් නොකරන ලද්දේ ඉබේ හට ගත්තේ දැ" යි මෙසේ විචාරණ ලද විට "තිම්බරුක, එසේ නොකියව" යි කියති. "

භවත් ගෞතමයෙනි, කිමෙක්ද, සුව දුක් නැත්තේ දැ" යි මෙසේ විචාරණ ලද විට "තිම්බරුක, සුව දුක් නොම නැත්තේය, තිම්බරුක, සුව දුක් ඇත්තේම ය" යි කියති. "එසේ නම් භවත් ගෞතම තෙමේ සුව දුක් නොදනීද, නොදකී දැ" යි මෙසේ විචාරණ ලද විට තිම්බරුක, මම සුව දුක් නොම නොදනිමි, නොම නොදකිමි, තිම්බරුක, මම සුව දුක් දනිමි ම ය මම සුව දුක් දකිමි ම ය යි කියති. භවත් ගෞතමයන් වහන්සේ මට සුව දුක් වදාරණ සේක්වා, දේශනා කරන සේක්වා.

තිම්බරුක, "ඕ වේදනාය. හේ විඳීය" යි මුලදීම මේ ලබ්ධිය ඇති කල්හි පසුව "සුව දුක් තමා විසින් කරන ලදැ" යි මෙබඳු ලබ්ධි වෙයි. එබැවින් සුව දුක් තමා විසින් කරන ලදැ" යි මෙසේ මම නොකියමි. තිම්බරුක, "වේදනාව අනෙකක, අනෙකක් විඳී ය" යි මුලදීම මේ ලබ්ධිය ඇති කල්හි (පසුව එයින් උපදනා උච්ඡේද දිට්ඨි සහගත) "වේදනාවෙන්පෙළුනහුටසුවදුක්මෙරමා විසින් කරන ලදැ" යි මෙබඳු ලබ්ධි වෙයි. එබැවින් සුව දුක් මෙරමා විසින් කරන ලදැ" යි මෙසේත් මම නොකියමි.

තිම්බරුක, තථාගත තෙමේ ඒ මේ අන්ත දෙකට නොපැමිණ මැදුම් පිළිවෙතින් දහම් දෙසයි. "අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංස්කාරයෝ වෙත්, සංස්කාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණය වේ. ... මෙසේ මේ හුදු දුක් රැසේ හට ගැනීම වේ. මේ අවිද්‍යාවේම නිරවශේෂ විරාග නිරෝධයෙන් සංස්කාර නිරෝධය වේ. සංස්කාර නිරෝධයෙන් විඤ්ඤාණ නිරෝධය වේ. ... මෙසේ මේ හුදු දුක් රැසේ නිරෝධය වේ" යි.

දැන් මේ සූත්‍රයේ තථාගතයන් වහන්සේ ඉතා පැහැදිලි පෙන්වා දෙනවා, සුව දුක් තමන් හදා ගන්නවා හෝ බාහිරින් හදල දෙනවා හෝ කියල ගත්තොත්, ඇත නැත අන්ත දෙකට වැටෙන බව. ඒ වගේම සුව දුක් ඉබේ හට ගන්නවත් නෙවෙයි. ඒ නිසා හොඳින් වටහා ගන්න ඕන, සුව දුක් කියන්නෙ පටිච්ච සමුප්පන්නව ගොඩ නැගෙන හේතු ඵලයක් බව.

ආස්වාදය තමයි අපි බලාපොරොත්තු වෙන්නෙ. දුකක් හට ගන්නවට අපි කැමති නෑ. ආස්වාද බලාපොරොත්තුවෙන් තමයි අපි ලෝකය තුල සැරිසරන්නෙ. දැන් මේ කය නැත්නම් බාහිර රූප තිබුන කියල ඒවායින් වින්දනයක් හට ගන්න විදිහක් නෑ. ඒ වගේම **මේ කය තුල පෙළීමක් නැත්නම්, කොච්චර බාහිර රූප තිබුනත් ඒවායින් ආස්වාද විඳින්නත් බෑ. ටොක්කෙ උදාහරණයෙන් ඒක මනාව පැහැදිලි වෙනවා. ඒ කියන්නෙ ආස්වාද විඳින්න නම් පෙළෙන කයක් අවශ්‍ය වෙනවා. ඒ නිසා අපට ආස්වාද විඳීමේ බලාපොරොත්තුව තියෙනකල්, පෙළෙන කයක් කර්ම ශක්තියෙන් නිර්මාණය කරල දෙනවා.** මෙතනින් තමයි මේ කය සුභද අසුභද කියල බලන්න ඕන. අපි ඒ ක්‍රමය පැත්තක තියල මේ කාලෙ කයේ සුභ අසුභ බලන්න පුරුදු වෙලා තියෙන්නෙ, චික්කේයිය කියල පිළිකුල් ස්වභාවයක් තුලින්. සෙම් සොටු මළ මුත්‍ර චික්කේයිය ගන්ධස්සාරෙ බෑ... ආදී වශයෙන් අරගෙන වඩන පිළිකුල් භාවනාවක් අද හදාගෙන තියෙනවා. අසුභ භාවනාව කියල මේ විදිහට වැරදියට හදාගත්ත භාවනාවක් තමයි අද බොහෝ දෙනෙක් වඩන්නෙ.

මේ සාසනය තුල ආර්ය විනයේ පළවෙනි ආර්ය සෘද්ධිය තමයි, ලෝකයා යමක් පිළිකුල් කරයිද ආර්යයෝ ඒක පිළිකුල් නොකරයි කියන එක. දෙවෙනි ආර්ය සෘද්ධිය තමයි, ලෝකයා යමක් පිළිකුල් නොකරයිද ආර්යයෝ ඒක පිළිකුල් කරයි කියන එක. මේ කයේ තියෙන ජරාව දැකල පිළිකුල් කරන එකක් නෙවෙයි අසුභ භාවනාව කියන්නෙ. වරද්ද ගත්ත දහමක් නිසා කෙස් කැතයි, කෙස් ගඳයි, කෙස් පිළිකුලයි, ලොම් කැතයි, ගඳයි... ආදී වශයෙන් සමහරු භාවනාවක් විදිහට වඩන්න පුරුදු වෙලා තියෙනවා. හැබැයි තවම ආර්ය විනයේ ප්‍රතිඵල වන මාර්ග ඵලයක් ධ්‍යානයක් ලබපු බවක් නම් අහන්න නෑ. ඒ විදිහට වඩල මනස විකෘති කරගත්ත අය ගැන නම් අහන්න ලැබෙනවා. මේ ක්‍රමය ආර්ය විනයේ ඉහත දක්වපු පළවෙනි ආර්ය සෘද්ධියට ගැලපෙනවද කියල බලන්න ඕන. දැන් කාගෙ හරි සෙම් සොටු ටිකක් දැක්කොත් අපි ඒක අප්‍රිය කරනවා. දුර්ගන්ධ වාතයක් ශරීරයෙන් පිට වුනොත් එහෙම පිළිකුල් කරනවා. වෙන කෙනෙක්ගෙ කෙළ ටිකක් ගෑවුනොත් මරා ගන්න හදනවා. මේවා මේ සාමාන්‍ය ලෝක සත්ත්වයා කරන දේවල්. ඒවා පළවෙනි ආර්ය සෘද්ධියට ගැලපෙන්නෙ නෑ.

සෘතවත් ආර්ය ශ්‍රාවකයා දකින අසුභයක් තියෙනවා. ඒක ඔය ජාතියේ එකක් නෙවෙයි. **යමක් යමක් නිසා පෙළීමකට පත්වෙනව නම්, ඒ දේ සුභයි කියල ගන්න සුදුසු නෑ. මේ කය අසුභයක් වෙන්නෙ ඒ නිසා මිසක් ශරීරයේ තියෙන ජරාව නිසා නෙවෙයි.** ජරාවට නම් කරන්න තියෙන්නෙ, හොඳට සෝදගෙන සුවඳ විලවුන් ටිකක් ඇඟ ගල්වගන්න එක. එතකොට තාවකාලිකව වැඩේ හරි. නමුත් මේ කය මොහොතක් පාසා පෙළෙනවා. ඒකයි මේ කය නමැති පංචස්කන්ධය අසුභයි කියන්නෙ. වහරක අභයරතනාලංකාර හිමියන් මේ පෙළීම ඇතිවන හැටි සමාධියෙන් දැකල ඉතා පැහැදිලිව විස්තර කරල තියෙනවා. ඒ විස්තරය ඊළඟ කලාපයෙන් බලාපොරොත්තු වන්න.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**
**0777 302407**

**අභයරතනාලංකාරය - 67**

# අපෙන් ගිලිහුනු දා...



- වහරක අභයරතනාලංකාර හිමි

ගෞතම බුදු සසුන යළි ඒකාලෝක කළ යතිවරයාණෝ අපෙන් සමු අරගෙන මේ වෙනකොට මාස 2 ක් ගත වෙලා අවසන්. නමුත් උන්වහන්සේ ගැන කිව යුතු තවත් බොහෝ දේ තියෙනවා. ඒත් කොතැනින් කොයි විදිහට පටන් අරගෙන මොනවා ලියන්නද කියල මුල, මැද, අග ගලප ගන්නත් බැරි තරම්. කියන්න කරුණු බොහෝ තිබුනත් ඒවායේ පිළිවෙලක් හිතා ගන්නත් බෑ. අති දුර්ලභව පහළ වන්නා වූ සම්බුද්ධ සාසනයක නිවන් දකින දහම උන්වහන්සේ විසින් අඩුවක් නැතිව මතු කළත්, ලෝකයාට තවත් වටිනා කරුණු රැසක් උන්වහන්සේගෙන් අහගෙන හෙළි කරන්න සූදානම් වෙලා හිටපු මොහොතක, අනපේක්ෂිත ලෙස සමු ගැනීම නම් හිතට දැඩි සංවේගයක් ඇති කරනවා. ඒත් අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ධර්මතාවයන්ට යටත්ව හිත හදාගන්නවා හැර වෙන කරන්න දෙයක් නෑ.

උන්වහන්සේ නිවන් දකින දහම නම් අඩුවක් නැතිව හෙළි කළා තමයි. ඒත් ඉතිං එදා බුදුන් වහන්සේ ජීවමානව වැඩ හිටපු කාලයේ වගේ, එක බණ පදයක් අහනකොට නිවන් දකින්න හේතු වාසනා තියෙන උග්ඝටිතඤ්ඤූ කියන පිරිසක් නෙවෙයි අද ඉන්නෙ. ඒ වගේම මේ කාලය වෙනකොට ලෝකයා ලෞකික ප්‍රශ්න රැසක අතරමං වෙලා ඉන්න නිසාත්, නවීන විද්‍යාවෙන් පර්යේෂණ මනසක් හදල තියෙන නිසාත්, ඒවත් දැනගෙන විසඳගෙන යන බලාපොරොත්තුවක් තමයි අද හුගක් දෙනෙකුට තියෙන්නෙ. අන්න ඒ වගේ ප්‍රශ්න රැසකටත් නිවනට උපනිශ්‍රය වන විදිහට විසඳුම් උන්වහන්සේ ළඟ තිබිච්ච නිසා, ඒවත් උන්වහන්සේගෙන් අහගෙන හෙළිදරව් කරන්න තමයි බලාපොරොත්තුවෙන් හිටියෙ. මේ වෙනකොටත් ඒ වගේ හෙළි කරපු කරුණු කාරණා බොහොමයක් තිබුනත්, තවත් වැදගත් කරුණු ඉතිරි වෙලා තිබුනා. දැනට ඉතිරි වෙලා තියෙන විදිහට ඒ කරුණු කාරණාත් ඉදිරියේදි හෙළි කරන්න බලාපොරොත්තු වෙනවා. ඊටත් පෙර, උන්වහන්සේගේ ජීවන ගමන ගැන තවත් සියුම් සැඟවුනු කාරණා කිහිපයක් කියන්න තියෙන නිසා, කාලයාගේ වැලි තලාවෙන් ඒවත් යටපත් වෙලා යන්න පෙර, අනාගත පරපුරටත් දැනගන්න පුළුවන් විදිහට ඔබ ඉදිරියේ සටහන් කිරීම යුතුකමක් විදිහට සළකනවා.

ලෝක සම්මතයේ ප්‍රසිද්ධ, සමාජයේ පිළිගන්න සම්භාවනීය පුද්ගලයින්ගේ ජීවිත කතා එළි දැක්වීම සාමාන්‍යයෙන් සිද්ධ වෙන දෙයක්. හැබැයි ඉතිං මේ ලෝකයේ කාපු බීපුවා කරපු කියපුවා සහ ලෝකයේ ලෞකික වශයෙන් යහ පැවැත්මට හේතු වෙන දේවල් ඇරෙන්න, එයින් ඔබ්බට ගිය වැදගත් දහමක් මතු කිරීම ඒ බොහොමයක් කතාවලින් කෙරෙන්නෙ නෑ. නමුත් මේ කියන උත්තමයාගේ ජීවිත කතාව හුදෙක් සිදුවීමකට වඩා එහා ගිය වටිනා සැඟවුනු දහම් කරුණු රැසකින් යුක්තයි. ලෝකෝත්තර වූ බුද්ධ සාසනයත් සමග සම්බන්ධ කරන්න පුළුවන් නිසා ඒ කරුණු දැන් මේ ජීවත් වෙන ලෝකයාටත්, අනාගත පරපුරටත් බොහොම වටිනවා. නිවන් දකින්න සෑදී පැහැදිලා ඉන්න පින්වත් පිරිසට වගේම තවමත් ඒ සඳහා සූදානමක් නැති පාරමිතා පුරාගෙන යන පිරිසටත්, ජාති ආගම් භේදයකින් තොරව අත්දැකීම් ලබාගෙන, මේ භයානක සංසාරයේ තවත් කඩඉමකට පැන ගන්න ඒ කරුණු බොහොම වටිනවා. ඒ කිසිම කරුණක් විකෘතියකින් හෝ අතිශයෝක්තියකින් හෝ තොරව ධර්මානුකූලව සටහන් කිරීමත් වැදගත්.

උන්වහන්සේ ජීවත් වෙලා ඉන්නකොට නැවත මතු කළ මේ දුර්ලභ දහමටත්, උන්වහන්සේටත් අපහාස උපහාස කරපු අය හිටියා. උන්වහන්සේ දැනට ජීවතුන් අතර නැතිවත් ඒ වගේ අපහාස උපහාස කරන පිරිස් තවමත් ඉන්න බව වටින් පිටින් අහන්න ලැබෙනවා. ලොව්තුරා බුදු පියාණන් වහන්සේ ඇතුළු එදා වැඩ හිටපු අසූ මහ ශ්‍රාවකයින්ටත් මුහුණ දෙන්න වෙච්ච ඒ වගේ සිද්ධි ලෝකයේ සාමාන්‍ය දෙයක්. හැබැයි ඒ නිසාම මේ **ලෝක සත්ත්වයින්ගෙන් වැඩි පිරිසක් නිවන් දකින්නෙත්, වැඩි පිරිසක් අපාගත වෙන්නෙත් බුද්ධෝත්පාද කාලයකමයි. මොකද බුද්ධ සාසනය මුල් කරගෙන සිද්ධ කරගන්න අපවාද උපවාද බොහොම බරපතලයි.**

ඉතිං වහරක අභයරතනාලංකාර හාමුදුරුවො ගැනත් කරුණු කාරණා හරියට දන්නෙ නැතිව, නිකං මතු පිටින් විතරක් බලල, එහෙම නැත්නම් කාගෙහරි කියමනක් අහල, එහෙමත් නැත්නම් ලාභ, කීර්ති, ප්‍රසංසාවලට ගිජු වෙලා අපවාද කරගත්ත අය වගේම, කරගන්න බලාගෙන ඉන්න අයත් තව ඉන්නව නම්, ඒ අය ගැනත් අනුකම්පා-වෙන්මයි මේ කරුණු සටහන් කරන්නෙ. මොකද එතකොට නැණ නුවණක් තියෙන කෙනෙක් හරි සත්‍යය යථාර්ථය තේරුම් අරගෙන අංශු මාත්‍රයක හෝ පැහැදීමක් ඇති කර ගන්නව නම්, පැහැදුනේ නැතත් අඩුගානෙ අපවාදයක් කරනොගන්න තැනටවත් කටයුතු කරගන්නව නම් ඒකත් වටිනවා. ඒ නිසා මතු පිටින් නොපෙනුනත් අභ්‍යන්තරයේ සැඟවිලා තිබ්බ්ච, දහමට ගලපන්න පුළුවන් ඒ සියුම් කරුණු කාරණා විටින් විට හෙළිදරව් කිරීම ඒ අය වෙනුවෙනුත්, අනිත් හැම

දෙනාම වෙනුවෙනුත් කරන යුතුකමක් හැටියට සළකනවා.

ඊටත් පෙර මගේ හිත දැඩි සංවේගයට පත් කළ, මට අහන්න ලැබුන, තවමත් අහන්න ලැබෙමින් පවතින තවත් කතාවක් කෙටියෙන් කියන්න අවසරයි. සාරාසංඛ්‍ය කල්ප ලක්ෂයක් පෙරුම් පුරල අප්‍රමාණ ලෝක සත්ත්වයින් වෙනුවෙන් අප්‍රමාණ කරුණාවෙන් ලොව්තුරා බුදු පියාණන් වහන්සේ විසින් දේශනා කොට වදාළ, නමුත් කාලයාගේ ඇවෑමෙන් යටපත් වුන දහමක් තමයි වහරක අභයරතනාලංකාර හාමුදුරුවො නැවත මතු කළේ. ඉතිං ඒ දහම අහල පැහැදිලා, නිහඬවම තමන්ගෙ ඉදිරි වැඩ කටයුතු කරගෙන යන පින්වත් පිරිසක් මේ ලංකාද්වීපයේ සතර දිග් භාගයේ වගේම විදෙස් රටවලත් ඉන්නවා. වර්තමාන ජනගහනයත් එක්ක ගත්තම ඒ පිරිස කුඩා වුනත් මහා වටිනාකමක් තියෙන පින්වත් පිරිසක්. මොකද ඒ අයට මේ ලෝකයේ අති දුර්ලභ වූ දහම ගැන යම් කිසි අවබෝධයක් තියෙන නිසා. විදෙස් රටවල ඉන්න ඒ සමහර පින්වතුන්, ආරංචිය ලද සැනින් කෙටි කාලයකට නිවාඩු අරගෙන උන්වහන්සේගෙ දේහයට අවසන් ගෞරව දක්වන්නම ඇවිත් හිටියා.

ඒත් උන්වහන්සේගේ සමු ගැනීම ගැන දැනගන්න නොලැබුන තවත් පින්වත් පිරිස් පසුගිය දිනවල ඒ ගැන බොහොම සංවේගයෙන් කතා කරනකොට හිතට දැඩි කම්පනයක්, සංවේගයක් ඇති වුනා. මෙච්චර දියුණු ජන මාධ්‍ය භාවිතා කරන කාලයක, දින 6 ක් තැන්පත් කරල තිබිල උන්වහන්සේගෙ දේහය ආදාහනය කළත්, ඒ ගැන දැනගන්න නොලැබීම නිසා, ඊට සම්බන්ධ වෙන්න බැරිවෙච්ච පින්වත් පිරිස් ඒ ගැන බොහොම සංවේගයෙන් කතා කළාම අපිටත් ලොකු කම්පනයක් ඇති වෙනවා. ඒ වගේ නොදැන හිටපු තවත් පින්වතුන්ගෙන් දුරකතන ඇමතුම් තවමත් ලැබෙමින් පවතිනවා. සමහරු අතරමගදි හමුවෙලා ඒ ගැන බොහොම කණගාටුවෙන් කතා කරනවා. ඒ සමහර පින්වතුන් වහරක හාමුදුරුවන්ව ඇස් දෙකින් දැකල තිබුනෙත් නෑ. මුණගැහිල වඳින්න බලාපොරොත්තුවෙන් හිටපු පින්වතුනුත් ඒ අතර හිටියා. එහෙම කෙනෙකුට ඉතිං උන්වහන්සේගෙ දේහයවත් ඇස් දෙකෙන් දැක බලාගෙන වඳින්නලැබෙනවකියන්නෙහිතටලොකු සැනසීමක්. මොකද මේ වගේ සැඟවුනු **දහමක් මතු කරපු උත්තමයෙක්ගෙ දේහයට අවසන් ගෞරව දක්වන්න ලැබෙනව කියන්නෙත්, සාමාන්‍ය මියගිය කෙනෙක්ගෙ දේහයට අවසන් ගෞරව දක්වනව වගේ නෙවෙයි. අපිට කල්පනාවට ආවෙ නැති වුනාට, මේ අනන්ත සංසාරෙ දුලභව ලැබෙන අවස්ථාවක්. විශේෂයෙන් මේ වගේ කාලයක එහෙම උත්තමයන් ගැන අහන්න ලැබෙන්නෙ ඉතාම කලාතුරකින්.**

ඉතිං අපි ඇසුරු කරපු සාමාන්‍ය කෙනෙක් මියගිය අවස්ථාවකත්, අපිට ඒ අවසන් කටයුතුවලට සහභාගි වෙන්න බැරි වුනොත් ඒ ගැන යම් කිසි කණගාටුවක් ඇති වෙනව නම්, මේ වගේ දහමක් මතු කරපු උත්තමයෙක්ගෙන් බණ පදයක් අහල අවබෝධයක් ලබපු කෙනෙකුට, ඒ උත්තමයගෙ අවසන් කටයුතුවලට සහභාගි වෙලා ගෞරව දක්වන්න නොලැබීම ඇත්තටම බොහොම සංවේගයක් ඇති කරනවා. ගැඹුරු දහම් අවබෝධයක් තියෙන, අධ්‍යාත්මික වශයෙන් ඉහළ මට්ටමක ඉන්න පින්වතුන්ට හැර අනෙක් අයට ඒ කාරණය දරාගන්න අමාරු වෙන්න පුළුවන්. හැබැයි ඉතිං මේ ඔක්කොම කාරණා සසර ගමන අවසන් කරනකල් විතරයි. කළ යුතු සියල්ල අවසන් කළාට පස්සෙ ඒවා එකක්වත් අවශ්‍ය නෑ තමයි. නමුත් ඒ දක්වා යන ගමනෙදි මේ හැම එකක්ම බොහොම වටිනවා. ඒත් දැන් ඉතිං ඒ අවස්ථාව ගිලිහී ගිහින් තියෙන නිසා සියල්ල අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල හිත හදාගන්නව හැර වෙන කරන්න දෙයක් නෑ. ඒ නිසා උන්වහන්සේගෙ දේහයට අවසන් ගෞරව දක්වන්න නොලැබිච්ච, ඒ ගැන සංවේගයට පත් පින්වත් පිරිසට බලවත් කණගාටුව මෙයින් පළ කර සිටිනවා.

ඉතිං උන්වහන්සේගෙ සමුගැනීම ගැන හුඟක් අය දැනගත්තෙ කටින් කට, මුහුණු පොත්වලින් සහ කෙටි පණිවිඩ වගේ දේවල් හරහා. ජන මාධ්‍යවල යම් ප්‍රමාණයකට වාර්තා කරල තිබුනත්, ලෝක සම්මතයේ ප්‍රසිද්ධ භික්ෂූන් වහන්සේ නමකට වගේ විශේෂ ප්‍රවෘත්තියක් විදිහට නෙවෙයි ඒ හුඟක් මාධ්‍ය වාර්තා කරල තිබුනෙ. මොකද උන්වහන්සේගෙ වටිනාකම ගැන හුඟක් මාධ්‍ය දැනගෙන හිටියෙ නෑ. දැනගෙන හිටියත් ඒ මාධ්‍යවල බලතල තියෙන උදවිය නෙවෙයි, බිම් මට්ටමේ උදවිය. බොහොමයක් ශ්‍රව්‍ය දෘෂ්‍ය විද්‍යුත් මාධ්‍යවලත් ඒ ගැන විශේෂත්වයක් පෙන්නුම් කළේ නෑ. මේ දහම තේරුම් ගත්ත අය දුර්ලභ වීමත් ඒකට හේතුවක් වෙන්න පුළුවන්.

උන්වහන්සේගෙ ආදාහනය තිබුනෙත් බදාදා දවසක. සාමාන්‍යයෙන් බදාදා කියන්නෙ රජයේ සහ පුද්ගලික අංශයේ වැඩ අධිකම දවසක්. ඉතිං ඒ වගේ දවසක් වෙලත් ඒ භූමිය පිරෙන්න තරම් විසාල පින්වත් පිරිසක් උන්වහන්සේගෙ ආදාහනයට සහභාගි වෙලා හිටියා. ඒත් ඉතිං ඊළඟට එන සෙනසුරාද වගේ දවසක තිබ්බ නම්, අර වගේ පුද්ගලික අපහසුතා තිබ්බිච්ච පිරිසටත්, ඒ ගැන දැනගන්න නොලැබිච්ච පිරිසටත් ඒ අවස්ථාවට සහභාගි වෙන්න ඉඩ ලැබෙන්න තිබුනා. උන්වහන්සේගෙ දේහයේ කිසිම නරක් වීමක් තිබුනෙ නැති නිසා එච්චර කාලයක් තියා ගන්නත් තිබුනා. එහෙම වුනා නම් දින 9 ක කාලයක් පින්වත් පිරිසට අවසන් ගෞරව දක්වන්න ඉඩ ලැබෙනවා. නමුත් ඉතිං මේ කටයුත්තට සම්බන්ධ වෙලා හිටපු බොහොමයක් භික්ෂූන් වහන්සේලා වගේම ගිහි පින්වතුනුත් ධර්ම සංවේගයට පත්වෙලා ඒ මට්ටමට සැලසුම් කරන්න තරම් ඉහල මානසිකත්වයක ඒ අවස්ථාවෙ නොසිටීම නිසා ඒ අවස්ථාවත් ගිලිහිලා ගියා. අපේ හිත්වලත් ඒ ගැන යම් කිසි අදහසක් තිබුනත්, ඒ අවස්ථාවේ ඒ අදහස අනිත් අයටත් කියල දැනුවත් කරන්න තරම් බලවත් වුනේ නෑ. මල් ශාලාවට ගෙන යෑම දක්වා දවස් එකහමාරක පමණ කාලය තුල ඇතිවෙච්ච ව්‍යාකූල තත්ත්වයත් ඒකට හේතු වෙන්න ඇති. සමහර විට ඒකටත් මාර පාක්ෂික බලවේග ක්‍රියාත්මක වෙන්න ඇති.

අනික් කාරණය ඉතිං යම් කිසි විදිහකින් මෙහෙම දෙයක් සිද්ධ වුනොත්, දේහය පිළිබඳ කටයුතු සිද්ධ කරන්න ඕන කොහොමද, කොච්චර කාලයක් තියාගන්න ඕනද... ආදී කාරණා උන්වහන්සේගෙන් කවුරුවත් අහල තිබුනෙත් නෑ. මොකද එහෙම දෙයක් ගැන කවුරුවත් ඒ වෙනකොට බලාපොරොත්තු වුනේ නෑ. ඒ නිසා එහෙම දෙයක් අහන්න තරම් මානසිකත්වයක් කාටවත් තිබුනෙ නෑ. නමුත් අවසාන සතියක දෙකක කාලය ඇතුලත උන්වහන්සේ ඒ ගැන යමක් කිව්වද නැත්ද කියන්න අපි දන්නෙත් නෑ. මොකද ඒ වෙනකොට උන්වහන්සේ කතා කළත් ඒ වචන අනෙක් අයට තේරුම් ගන්න පුළුවන්කමක් තිබුනෙ නෑ. ඒ

තරම් සෞඛ්‍ය තත්ත්වය දුර්වලයි. ඒ නිසා ඒ අවස්ථාවත් අපෙන් ගිලිහිලා ගියා.

දැන් ඉතිං ලෝකයේ සියල්ල පටිච්ච සමුප්පන්නයි, සංඛතයි, අනිච්චයි, දුක්ඛයි, අනත්තයි කියල හිත හදාගන්නව හැර වෙන කරන්න දෙයක් නෑ. ඒ නිසා දැන් මේ ඒ ගැන පශ්චාත්තාප වෙන්න කියනව නෙවෙයි. ඉදිරියේදීත් කවදහරි මේ වගේ උත්තමයන් පහළ වෙච්ච දවසක, ඒ වගේ කටයුතු සම්බන්ධයෙන් අතපසුවීම් සිද්ධ වෙන්න නොදී දැනුවත් වෙලා කටයුතු කරල, ජීවත් වෙලා ඉන්න පිරිසටත් පිනක් දහමක් කරගන්න අවස්ථාව සලසගන්න වැදගත් වෙයි කියල හිතල තමයි මේ කාරණය සටහන් කළේ.

හිතාමතා සිද්ධ නොවෙච්ච, අපේ පාලනයෙන් තොර මේ වගේ අතපසු වීම් තිබුනත්, උන්වහන්සේගෙ ආදාහනය පුළුවන් උපරිම ගෞරවයෙන් සිද්ධ කරන්න භික්ෂූන් වහන්සේලා ඇතුළු පින්වතුන් කටයුතු කළා. දේහය ආදාහනය කරන්න තරම් ප්‍රමාණවත් වෙන විදිහට දිවයිනේ හැම පැත්තෙන්ම පින්වතුන් සඳුන් දර එකතු කරල එවල තිබුනා. සමහර පින්වතුන් පුළුවන් විදිහට බෙහෙත් බඩු වෙළඳසැල්වල තිබිච්ච පුංචි සඳුන් දර කෑලි පවා අරගෙන එකතු කරල දුන්නා. චිතකයත් බොහොම දර්ශනීය ආකාරයට සකස් කරල තිබුනා. පරිසර හිතකාමී විදිහට තවත් අලංකාර සැරසිලි අර්ථාන්විතව සකස් කරල තිබුනා.

මොකද පිදිය යුත්තන්ගෙ, ගුණවන්තයන්ගෙ දේහයන් සම්බන්ධයෙන් අවසන් කටයුතු පවා ගෞරවනීය විදිහට සිද්ධ කිරීම පිනක් කියන කාරණයත් උන්වහන්සේගෙන්ම ප්‍රකාශ වෙලා තිබුනා. මීට අවුරුදු 7 කට පමණ පෙර කිරිඳිවැල ප්‍රදේශයේ වෙද මහත්මයෙක් ළඟට බෙහෙත් ගන්න ගිහින් එනකොට, විසාල පොල්වත්තක සොහොනක් බැඳල තියෙනව දැකල මම උන්වහන්සේගෙන් ප්‍රශ්නයක් ඇහුවා. සමහරු මැරුනට පස්සෙ මහ විසාල වියදමක් දරල තොරණ බැඳල හරකෙකුට තණකොළ ගහක්වත් කන්න නැතිවෙන්න කොන්ක්‍රීට්වලින් සොහොනත් බැඳල මේ කරන කටයුතු අපරාධයක් නේද කියල හැඟිලයි ඒ ප්‍රශ්නය ඇහුවෙ. සමහර භික්ෂූන් වහන්සේලා නම් අපවත් වුනාට පස්සෙ ඉතාම කෙටි කාලයක් ඇතුලත වැඩි වියදමක් මහන්සියක් දරන්නෙ නැතිව, කාටවත් දැනුම් දෙන්නෙ නැතිව, ඉතා ඉක්මනින් ඒ කටයුතු අවසන් කරන්න කියල ඉල්ලපු අවස්ථා තියෙනවා, ඒක තමයි නියම ක්‍රමය නේද කියලයි මම ඇහුවෙ.

එතකොට උන්වහන්සේ දීපු පිළිතුර තමයි, මනුස්සයෙකුට පිනක් දහමක් කරගන්න තියෙන අවස්ථාවත් නැති කරනවා කියල. එදා තමයි විස්තර ඇතිව දැනගත්තෙ, **ගුණ වඩපු උත්තමයන්ගෙ අවසන් කටයුතු පවා ගෞරවනීය විදිහට සිද්ධ කිරීමත් පිං උනන කටයුත්තක් කියල.** හැබැයි මේ කියන්නෙ මැරෙන හැම කෙනෙක්ගෙම අවසන් කටයුතු ගැන නෙවෙයි. විශේෂයෙන් ශ්‍රමණ බ්‍රාහ්මණාදී ගුණ වඩපු උත්තමයන්ගෙ අවසන් කටයුතු ගැන. ඒ කාරණාව බුද්ධ දේශනාවෙත් සඳහන් වෙනවා. චෛත්‍ය හදල වන්දනාමාන කරන්න සුදුසු පුද්ගලයන් හතර දෙනෙක් ගැන කියනකොට තමයි ඒ කාරණය සඳහන් වෙන්නෙ.



ඒ වගේම සාම්ප්‍රදායික මළ ගෙවල්වල, භික්ෂූන් වහන්සේලාගේ ආදාහන උත්සවවල ප්‍රදර්ශනය කරල තියෙන සාම්ප්‍රදායික ආකාරයේ දැන්වීම්, පතාක ධජ (බැනර්) උන්වහන්සේගෙ දේහය තැන්පත් කරල තිබිච්ච පුණ්‍ය භූමියේ දකින්න තිබුනෙ නෑ. ඒ කියන්නෙ සාමාන්‍යයෙන් කෙනෙක් මියගියාම, භික්ෂූන් වහන්සේ නමක් නම් අපවත් වුනාම, "අපගේ බලවත් ශෝකය, සාතිශය සංවේගය, මතු නිවන් සැප ලැබේවා, යළි අප අතරම ඉපදේවා, රූපං ජීරති මච්චානං නාම ගොත්තං නජීරති..." ආදී සාම්ප්‍රදායික වැකි උන්වහන්සේගෙ දේහය සම්බන්ධ අවසන් කටයුතුවල දකින්න තිබුනෙ නෑ. ඒ වෙනුවට තිබුනෙ දහම් අරුත් නැංවෙන ආකාරයේ අනිච්චතාවය සිහිගන්වන වැකි, නිවන් පූර්ණ කිරීම සම්බන්ධ වැකි, ඒ වගේම දහමේ දුර්ලභ බව කියාපාන වැකි. උන්වහන්සේ වෙනුවෙන් බෙදපු හැම පත්‍රිකාවක්ම, දැන්වීමක්ම දහම් අරුත් ඔප් නැංවෙන විදිහට තමයි සකස් කරල තිබුනෙ. උන්වහන්සේ විසින් නැවත මතු කළ ඒ පරම දුර්ලභ දහම අහපු සිවුවනක් පිරිසට තිබිච්ච දහම් අවබෝධයත් එක්ක ඒ කටයුතු අර්ථාන්විතව සිද්ධ වෙලා තිබුනා.

උන්වහන්සේ සම්බන්ධයෙන් තවත් සැඟවිච්ච වටිනා කරුණු කාරණා තියෙන නිසා, කාලයත් සමග යටපත් වෙන්න පෙර අනාගත පරපුරෙත් දැනගැනීම සඳහා ඒවත් සටහන් කිරීම යුතුකමක් කියල අදහස් කළා. එහි එක් පියවරක් විදිහට උන්වහන්සේ කාලයක් තිස්සේ නේවාසිකව ප්‍රතිකාර ගත්ත රෝහලේ රුධිර කාන්දු කිරීම් අංශයේ ප්‍රධාන හෙද නිලධාරිනිය හමුවෙලා උන්වහන්සේ ගැන විශේෂයෙන් නිරීක්ෂණය කරපු කාරණා කිහිපයක් සටහන් කරගන්න පුළුවන් වුනා. මජ්ඣිම නිකායේ <u>සබ්බාසව සූත්‍රයේ</u> සඳහන් වෙන **අධිවාසනා පහාතබ්බ හෙවත් ඉවසීමෙන් පහ කිරීම කියන කාරණය, ශාරීරික වේදනාවලදිත් උන්වහන්සේ ළඟ උපරිමයෙන් තිබිච්ච** බව මේ අත්දැකීම්වලින් හෙළිදරව් වෙනවා. මේ තමයි ඇගේ අදහස.

"උන්වහන්සේ දරුණු වේදනාවක් ආවත් කවදාවත් අපට කරදර කළේ නෑ, කෑ ගැහුවෙ නෑ. අත් දෙකේ වේදනාවක් ආවම අත ටිකක් අඹරනකොට අපි මොකද හාමුදුරුවනේ කියල ඇහුවත්, මුකුත් නෑ කියනවා.

ඒ වගේම තමයි වකුගඩු අක්‍රීය වෙලා රුධිර කාන්දු පෙරීම (Dialysis) ක්‍රියාත්මක කරනකොටත් කිසිම ගානක් නෑ. සාමාන්‍යයෙන් වෙන රෝගියෙක් නම් එක විදිහට ඉන්නෙ නෑ, දඟලනවා, ඇඳෙන් පනින්න හදනවා. මොකද ලොකු එන්නත් කටු දෙකක් ගහනවා. ඒක හරි වේදනාකාරී දෙයක්. නමුත් උන්වහන්සේ මුකුත් නෑ වගේ කිසි ගානක් නැතිව ඔහේ ඉන්නවා. ඒ වගේම සමහර කාලවලට නාහෙන් කටින් බට දාල හිර කරල තිබිච්ච අවස්ථා තිබුනා. ඒවටත් උන්වහන්සේ ඔරොත්තු දුන්නා. ඒ කියන්නෙ ඉවසගෙන ඉන්නවා, මුකුත් කියන්නෙ නෑ. උන්වහන්සේට රිදෙනවද නැත්ද කියලත් අපි දන්නෙ නෑ. නමුත් ඒ ජාතියේ වෙනත් රෝගීන් වගේ කවදාවත් කිසි අපහසුවක් වුනේ නෑ.

අපි හරි ආසයි උන්වහන්සේට තේ කෝප්පයක් වගේ මොනව හරි දෙයක් පිළිගන්වන්න. එක දවසක් ලේ සුද්ධ කරල එක්කගෙන ආවම, මම අපේ ළමයෙකුට කියල තේ කෝප්පයක් හදාගෙන ගිහින් උන්වහන්සේට පිළිගැන්නුවා. එතකොට උන්වහන්සේ බලාගන්න එතන හිටපු ළමයෙක් කිව්වා, ඕකට සීනි දාලනෙ කියල. මොකද උන්වහන්සේට සීනි වැඩි වෙලා තිබිච්ච නිසා සීනි නැතුව තමයි දෙන්න ඕන. පස්සෙ මම ඒ තේ කෝප්පය ආපහු ගන්න හදනකොට උන්වහන්සේ අතින් සංඥා කරල කිව්වා, කමක් නෑ මම ඒක පිළිඅරගෙන ඉවරයි කියල. සීනි ප්‍රශ්නය තිබිලත් උන්වහන්සේ ඒක ගත්තා. වෙන කෙනෙක් නම් ඉතිං විසි කරනවනෙ.

ඇත්තටම උන්වහන්සේගෙ හරි විශේෂත්වයක් තිබුනා. ඒ විශේෂත්වය මම විතරක් නෙවෙයි, අපිත් එක්ක හිටපු අනිත් අයත් දැක්කා. අන්තිම කාලෙ උන්වහන්සේගෙ ශරීරය ක්‍රමයෙන් දුර්වල වේගෙන ආවා. මම හිතුවෙ ඇත්තටම උන්වහන්සේගෙ තියෙන චිත්ත ශක්තියයි, භාවනා කරපු ශක්තියයි නිසා වෙන්න ඇති මෙච්චර දෙයක් ඔරොත්තු දෙන්න ඇත්තෙ කියල. මොකද අන්තිමට වකුගඩුවලත් වතුර පිරිල අක්‍රීය වෙලා, පෙණහලුවලත් වතුර පිරිල, වතුර උගුරක්වත් බොන්න බෑ, උගුරෙන් පහළට මොකුත් යන්නෙ නෑ, හුස්ම ගන්න බෑ... ඔය වගේ ආබාධ ගොඩක් එකක් පිට එකක් ඇවිල්ලත් කිසි ගානක් නැතිව හිටියා. හරි පුදුමයි.

අන්තිමට සැත්කම් කිහිපයකුත් කළා. අවසාන කාලයේ පෙණහලුවල වතුර පිරෙන ප්‍රශ්නය නැවතත් ආවා. ඒ වතාවෙ රුධිර කාන්දු පෙරීමත් කළා. ඒ තත්ත්වයේදි බේත් නොකරත් බෑ. ඒ තිබිච්ච ආසාදනවල හැටියට බේත් දෙන්නම ඕන. ඒ බේත් සමහරවිට වකුගඩුවලටත් බලපානවා. ඒත් කරන්න දෙයක් නෑ දෙකම බේරගන්න ඕන. අන්තිමට ශරීරයේ හුගක් ඉන්ද්‍රියන් අක්‍රීය වුනා. ඉතිං මෙච්චර වේදනාකාරී මාරාන්තික තත්ත්වයන් තිබිලත් ඒවට ඔරොත්තු දීම ගැන අපි හිතුවෙ, උන්වහන්සේගෙ තිබිච්ච අධ්‍යාත්මික බලය නිසාමයි මේ විදිහට මෙච්චර කාලයක් ඉන්න ඇත්තෙ කියල.

උන්වහන්සේ දැඩි සත්කාර ඒකකයට ඇතුලත් කරන්න පෙර මම හැමදාම ගිහින් වැඳල කතා කරල දුක සැප හොයල බලල යනවා. දවසක් මටම හිතුනා උන්වහන්සේට හොඳ චීවරයක් පූජ කරන්න. ඒ වෙනකොට මම දැනගෙන හිටියා උන්වහන්සේට අමාරු වේගෙන එනව කියල. ඉතිං මම විගහට මගේ දරුවෙකුට කියල චීවරයක් ගෙන්න ගෙන උන්වහන්සේට පූජ කළා. උන්වහන්සේ ඒක පිළිගත්තා. මම හිතන්නෙ ඒක උන්වහන්සේට පෙරවලත් තිබුනා. ඉතිං මට හරිම සතුටුයි උන්වහන්සේට චීවරයක් පූජ කරන්න ලැබීම ගැන. උන්වහන්සේගෙ තවත් විශේෂත්වයක් මම දැක්කා. ඒ තමයි අනිත් අයට නිතරම වගේ ආශිර්වාද කරනවා. ඒ වගේ හුගක් අයට ආශිර්වාද කරනව මම දැකල තියෙනවා. උන්වහන්සේගෙ ආශිර්වාදය හැමෝටම තියෙන්න ඇති.

උන්වහන්සේ හිටි හැටියෙම හරි අමුතු දේවල් කියනවා. හැම වෙලේම නෙවෙයි. දවසක් අපි වෛද්‍ය දැඩි සත්කාර ඒකකයේ (MICU) ඉන්නකොට සාමාන්‍ය කතාව අතහැරල හිටි ගමන් එක්තරා අමුතු පැත්තකට කතාව කියාගෙන කියාගෙන ගියා. කිරිවෙහෙර වටේ ප්‍රේතාත්ම වගේ කොටස් හිටිය කිව්වා. තවත් උඩට යනකොට දිව්‍ය ලෝකවල දෙවියො හිටිය කිව්වා, විවිධ ලස්සන වර්ණවලින් බ්‍රහ්ම ලෝක වගේ තිබුන කිව්වා. අන්තිමට බුදු හාමුදුරුවො වැඩ ඉන්නෙ... කියල එතනින් එක පාරටම ඒ කතාව නවත්වල සාමාන්‍ය කතාවට ආවා. හාමුදුරුවො හරියට ඒව දකිනව වගේ තමයි කියන්නෙ.

එක වතාවක් මම රෝහල් සේවයෙන් අයින් වෙන්න ලෑස්ති වෙලා ඒ ගැන උපදෙසක් බලාපොරොත්තුවෙන් උන්වහන්සේට දැනුම් දුන්නා. එතකොට හාමුදුරුවො එකපාරටම මට කිව්වා, අයින් වෙන්න කියල. මම කිව්වා, අපේ හාමුදුරුවනේ එතකොට කවුද හාමුදුරුවො බලාගන්නෙ කියල. නෑ අස්වෙන්න හිතපු වෙලාවෙ අස්වෙන්න ඒක තමයි නියම වෙලාව කිව්වා. ඒ කියන්නෙ අස්වෙලා භාවනා කටයුතුවල යෙදෙන්න කියල කිව්වෙ. මම අස්වෙන්න හිටියෙ ඒකට නෙවෙයි. නමුත් උන්වහන්සේ ඒ අර්ථයෙන් තමයි ඒක කිව්වෙ.

ඉතිං හිටි ගමන් හරි ලස්සන කතා කියනවා. දවසක් අපිත් එක්ක කිව්වා, මම කෙනෙක්ගෙ පිත්තාශයේ සැහෙන කාලයක් තිස්සෙ ඉඳපු අමනුස්සයෙක් එළියට අරගෙන නිදහස් කරල දැම්ම කියල. ඊට පස්සෙ ඔහුට පිත්තාශයේ තිබිච්ච අසනීපය හොඳ වුනා කිව්වා. උන්වහන්සේ මොනවහරි කතාවක් කියන්න ගත්තම හරි වේගයෙන් එක දිගට කියාගෙන යනවා. සමහර ඒවා අපිට අල්ල ගන්න බෑ. ඒ තරම් වේගවත්. සමහර දවස්වලට ඉතිං අපි ගිහින් කතා කර කර ඉන්නකොට අහනවා, අපේ හාමුදුරුවනේ වකුගඩු නරක් වෙන්න හේතුව මොකක්ද කියල. එතකොට දවසක් කිව්වා, දානෙත් එක්ක මෙන්න මෙහෙම වසක් දීල තියෙනව කියල. ඒක ඉතිං පෙර අත්බැවක කර්ම වේගයක් වෙන්න ඇති කිව්ව මිසක් එහෙම දීපු අයට දොස් කිව්වෙත් නෑ.”

මේ වගේ උන්වහන්සේගෙ කතාබහේ සහ හැසිරීම්වලින් නිරීක්ෂණය කරන්න ලැබිච්ච තවත් සියුම් දහම් කරුණු ඉදිරියේදි හෙළිදරව් කරන්න බලාපොරොත්තු වෙනවා. මතු පිටින් එක පාරටම අඳුනගන්න බැරි මේ වගේ උත්තමයො මේ ලෝකයේ තවමත් වැඩ ඉන්නවා කියන කාරණය දැනගන්න මේ වගේ කරුණු බොහොම වැදගත් වේවි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# වරදවා ගත් පූති මුත්ත හේසජ්ජය

වෙජ්ජූපමෝ ජිනවරෝ
ගේලඤ්ඤෝච පුථුජ්ජනා
රෝගූපමා කිලේසාච
සද්ධම්මෝ පරම ඕෂධෝ

ජිනවර කියල හඳුන්වන ලොව්තුරා බුදු රජාණන් වහන්සේ අසාමාන්‍ය වෛද්‍යවරයෙකි. පෘතජ්ජන ලෝක සත්ත්වයා ගිලන් වූවන්ය. 1500 ක් පමණ වූ ක්ලේශයෝ රෝගයන් වැනිය. ශ්‍රී සද්ධර්මය පරම ඔසුවකි.

සර්වඥයන් වහන්සේ විසින් දේශනා කරන ලද සූ අසූ දහසක් ධර්ම ස්කන්ධය කියන්නෙ අති විශේෂ ඖෂධ සම්භාරයක්.

"උස්සුක්කෝ ලෝක සංනිවාසෝ" ලෝක සත්ත්වයෝ කෙළෙස් ගින්නෙන් දැවෙමින් තැවෙමින් ආතුර වී සිටිති. සර්වඥයන් වහන්සේ ලෝ වැසි ආතුර ජනතාව සුවපත් කරන වෙදදුරාණන්ය.

"සෝහං බ්‍රාහ්මණ සම්බුද්ධෝ සල්ලකත්තෝ අනුත්තරෝ." බ්‍රාහ්මණය, මම ශල්‍ය වෛද්‍යවරයෙක් කියල බමුණෙක් අහපු ප්‍රශ්නයකට බුදුන් වහන්සේ පිළිතුරු දීල තියෙනවා.

විනය පිටකයේ මහා වග්ග පාළියේ **හේසජ්ජඛන්ධකයේ විවිධාකාර ලෙඩ රෝග සමනය සඳහා ප්‍රත්‍යක්ෂ ඖෂධ ක්‍රමයන් දේශනා කරල තියෙන්නෙ වෛද්‍ය විද්‍යාව හදාරල නෙවෙයි, මහා කරුණාවේ පිහිටල සර්වඥතා ඥානයෙන් සර්වාකාරයෙන් දැකල ලෝකානුකම්පාවෙන්මයි.**

සසර දුකින් මිදිල කෙළෙස් රෝ දුක් නිවල ශාන්ත වූ නිවනින් සැනසෙන්න සැදැහැයෙන් සාසනයට ඇතුලත් වෙච්ච ශ්‍රමණ සාක්‍ය පුත්‍රයන් සඳහා දේශනා කළ ජීවිත පරිෂ්කාර නම් වූ සිවුපසයත්, තෘෂ්ණා දෘෂ්ටි මානාදී උපක්ලේෂයන් සමනය වන විදිහට පරම අල්පේච්ඡතාවයත් වදාරළ තියෙන්නෙ අරියවංශ ප්‍රතිපදාව සපිරෙන විදිහටමයි.

සර්වඥයන් වහන්සේ විසින් ආහාරය පිණිස පිණ්ඩපාතයත්, චීවරය පිණිස පාංශුකූලයත්, සෙනසුන පිණිස රුක් මුලත්, ගිලන්පස පිණිස පූති මුත්ත බෙහෙතත් දේශනා කරල තියෙන්නෙ, ඒ සියල්ල අනුව පවතිමින් ආදර්ශවත් විදිහට.

බුද්ධ ජයන්ති ත්‍රිපිටක පොත් සිංහල භාෂාවට පරිවර්තනය කරල තියෙන්නෙ භාෂා ව්‍යාකරණ ඉගෙන ගත්ත භික්ෂූන් වහන්සේලා විසින්. උන්වහන්සේලාට වැටහුන ආකාරයෙන් හරි එහෙම පරිවර්තනය කිරීමෙන්, පාළි භාෂාවෙන් තිබ්බච්ච බුද්ධ වචනය මහජනතාවට කියවල තේරුම් ගන්න අවස්ථාව උදා වෙලා තියෙනවා. සමහර සිංහල පරිවර්තනවල සදොස් තැන් නැතුව නෙවෙයි. **බොහෝ සෙයින් හෙළ වචන වෙනුවට සංස්කෘත වචන භාවිතා කිරීම නිසා සමහර අර්ථ බුද්ධ වචනයට පරස්පර වෙලා තියෙනවා. අනිච්ච - අනිත්‍ය කිරීම, අනත්ත - අනාත්ම කිරීම වගේ පරිවර්තන ධර්මානුකූල නෑ.** මේ වචනවලට වැරදි අර්ථ කථන දුන්න වගේ, පූති මුත්ත හේසජ්ජය පරිවර්තනය කරන්න ගිහින් ඒ වගේම වරදක් සිද්ධ වීමෙන්, පූති මුත්ත හේසජ්ජය පිළිබඳ වැරදි වැටහීමක් ගිහි පැවිදි හැමදෙනා තුලම ඇති වෙලා තියෙනවා.

**ගිහි පැවිදි සියලු දෙනාටම කිසිම මුදලක් වියදම් කරන්නෙ නැතිව, තම තමන්ටම සියලු කායික රෝග සුව කරගෙන උතුම් ආර්ය මාර්ගය වඩාගන්න තිබුන අවස්ථාව, පූති මුත්ත හේසජ්ජයට දීපු වැරදි අර්ථ කථනය නිසා අහිමි වෙලා තියෙනවා.**

භික්ෂුවකට අත්‍යවශ්‍ය කාරණා 4 විදිහට පෙන්වල තියෙන චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලාන පච්චය කියන සිවුපසයෙන් පූති මුත්ත බෙහෙත අයිති වෙන්නෙ ගිලාන පච්චයට.

උපසම්පදා වන භික්ෂුවට උපසම්පදාව අවසානයේදි අකරණීය 4 හා නිශ්‍රය 4 විස්තර කරල දෙනවා. නමුත් සීමාමාලකයෙන් එළියට එනකොටම නිශ්‍රය හතර නම් අමතක කරන බව පේනවා. අකරණීය හතර විදිහට දක්වල තියෙන්නෙ පාරාජිකා හතර.

පාංශුකූල සිවුරු දැරීම (පාංශුකූල චීවරං නිස්සාය පබ්බජ්ජා), පිණ්ඩපාත භෝජනයෙන් යැපීම (පිණ්ඩියාලෝපන භෝජනං නිස්සාය පබ්බජ්ජා), රුක් මුල් සේනාසන පරිහරණය කිරීම (රුක්ඛමූල සේනාසනං නිස්සාය පබ්බජ්ජා), පූති මුත්ත හේසජ්ජය පාවිච්චි කිරීම (පූති මුත්ත හේසජ්ජං නිස්සාය පබ්බජ්ජා) කියන මේ හතර නිශ්‍රය හතර විදිහට හඳුන්වල තියෙනවා.

මෙතනදි "පූති මුත්ත හේසජ්ජය" ත්‍රිපිටක පරිවර්තනවල විස්තර කරල තියෙන්නෙ "අරළු ඇඹුලි ඇ" කියල. එළ ගව මූත්‍රවලට අරළු දාල මැටි භාජනයකට දාල ඒ මැටි භාජනයේ කට වහල දින 21 ක් පොළොව යට වළලල ගන්න බෙහෙතක් ☞

විදිහට සම්ප්‍රදායේ පූති මුත්ත බෙහෙත හඳුන්වනවා.

මේ බෙහෙතත් බොහෝ රෝගවලට හොඳ නමුත් ඒක පූති මුත්ත බෙහෙත නොවන බව අවධාරණයෙන්ම කියන්න පුළුවන්. **පූති මුත්ත කියන වචනය තුල එළ ගව මුත්‍ර කියන අදහසක් කොහෙත්ම සඳහන් වෙන්නෙ නෑ.**

මජ්ඣිම නිකායේ 1 වන කාණ්ඩයේ මහා <u>ධම්ම සමාදාන සූත්‍රයේ</u> පූති මුත්ත බෙහෙත ගැන මේ විදිහෙ විස්තරයක් තියෙනවා. "සෙය්‍යථාපි භික්ඛවේ පූති මුත්තං නා නා භේසජ්ජේහි සංසට්ඨං...." මේ ආදී වශයෙන් එන පාළියේ තේරුම මේකයි.

මහණෙනි, නා නා ඖෂධවලින් මිශ්‍ර පූති මුත්ත කියල බේතක් තියෙනවා. පාණ්ඩු රෝග හැදුනු රෝගියෙක් එනවා. පිංවත, මේ පූති මුත්ත බෙහෙත නොයෙක් ඖෂධවලින් යුක්තයි, මෙය පානය කරන ඔබට මෙහි පාට රස සුවඳ එපා වෙයි, නමුත් පානය කිරීමෙන් පාණ්ඩු රෝගය සුව වෙනවා. ඔහු ඒ කීම පිළි අරගෙන පූති මුත්ත බෙහෙත පානය කරනවා. අත් නොහැර දිනපතා පානය කරන ඔහුට රෝගය සුවපත් වෙනවා. මහණෙනි, දැන් දුක් ඇති මතු සැප ඇති ධර්ම සමාදානයක් තමයි මේ.

මේ වගේ ධර්ම සමාදාන හතරක් ඒ සූත්‍රයේ සඳහන් වෙනවා. මේ පූති මුත්ත බෙහෙත වර්තමානයේ දුක් දෙන බව සඳහන් වෙන්නෙ, මුත්‍රවල තියෙන ගන්ධය සහ රසය අමිහිරි නිසා. දුකෙන් අමාරුවෙන් නමුත් පාවිච්චි කළොත් මතු නිරෝගිකමෙන් සැප ලබන්න හේතු වෙනවා. දින කීපයක් යනකල් මුත්‍ර පානය අමිහිරි වුනත්, පුරුදු වුනාට පස්සෙසාමාන්‍ය වතුර බොනව වගේ පාවිච්චි කරන්න පුළුවන්.

ඇතැමුන්ට අටුවා ටීකා ගැන එතරම් විස්වාසයක් නැතත්, ඒවායේ තියෙන සියලුම දේවල් අසත්‍යයි කියල ගන්න තරම් අදූරදර්ශී වෙන්න හොඳ නෑ. මුං ඇට හොද්දෙ තැම්බුන ඇට වගේම යක් ඇටත් (තැම්බුනේ නැති ඇට) තියෙනව වගේ, අටුවා ටීකාවලත් නිවැරදි විග්‍රහයන් තියෙනවා. ඒකට හොඳම උදාහරණයක් තමයි පූති මුත්තයට අටුවාවෙ දීල තියෙන විග්‍රහය.

පූති මුත්ත භේසජ්ජය ත්‍රිපිටක සිංහල පරිවර්තනයේ, අරළු මිශ්‍ර බේතක් කියල වරහන් ඇතුලෙ අතින් දාල අර්ථ කථනය කරල තිබුනට, මහා ධම්ම සමාදාන සූත්‍ර අටුවාවේ පූති මුත්තය ඉතාම නිවැරදි ආකාරයෙන් තෝරල තියෙනවා.

"පූති මුත්තන්ති මුත්ත මේව යථාහි මනුස්සත්ථ භාවෝ සුවන්න වණ්ණෝපි පූතිකායෝත්වේව තදහු ජාතාපිච තරුණාව ලතා පූතිලතාත්වේව වුච්චති. ඒවං තං බණං ගහිතං තරුණමම්පි මුත්තං පූති මුත්ත මේව" (ධම්ම සමාදාන සූත්‍ර අටුවාව)

පූති මුත්ත කියන්නෙ සාමාන්‍ය මුත්‍රමයි. (ගව මුත්‍ර හෝ පල් කළ මුත්‍ර නෙවෙයි.) **යම් සේ මනුස්සයා රන් පැහැයෙන් බබලන්නේද ඔහුගේ කයට පූති කය කියලත්, එදින හට ගත් රසකිඳ ළපටි පැළයට පූති ලතා කියලත් කියනවා. ඒ වගේම එවේලේ ලබා ගන්න අලුත් මුත්‍රවලටත් පූති මුත්ත කියල කියනවා.**

මෙතෙක් කල් විනය පිටකයේ පරිවර්තනය සහ ධම්ම සමාදාන සූත්‍ර පරිවර්තනයේ තිබුන ගෝ මුත්‍ර (ගව මුත්‍ර) අරළු බේත ඉහත අටුවා පාඨයෙන් අභියෝගයට ලක් වෙනවා. පූති මුත්ත කියන්නෙ සාමාන්‍ය මිනිස් මුත්‍ර කියල මෙයින් මැනවින් පැහැදිලි වෙනවා. ඒ වගේම ධම්ම සමාදාන සූත්‍ර ටීකාවේ මේ විදිහෙ විවරණයකුත් විස්තර වෙනවා.

"පූති මුත්තන්ති පූති සභාව මුත්තං තරුණන්ති ධාරාවසේන නිපන්තං හුත්වා උණ්හං තේනස්ස උපරිමත්තමාහ. මුත්තඤ්ඤහි පස්සාව මග්ගතෝ මුච්චමානං කායුස්මාවසේන උණ්හං හෝති" (මජ්ඣිම නිකාය ටීකාව)

පූති මුත්ත කියල කියන්නෙ නුරුස්නා (පිළිකුල්) ස්වභාවය තියෙන මුත්‍ර. තරුණං කියන්නෙ මුත්‍ර පිටවන උණු උණුවේම ඇති මුත්‍රා. මේ ටීකා විවරණයෙනුත් පූති මුත්ත කියන්නෙ උණු උණුවේම ගන්න අලුත් මුත්‍ර බව පැහැදිලිවම පෙන්වල තියෙනවා.

**ගව මුත්‍රවලට අරළු දාල සති 3 ක් විතර පල් කරල ගන්න කොට, තරුණං කියන වචනය අනුව අලුත්ම මුත්‍රා කියන අර්ථයටත්, උණු උණුවේම ගන්න මුත්‍රා කියන අර්ථයටත් ගැලපෙන්නෙ නෑ.**

මනුස්ස ශරීරයට පූති කාය කියල කියනවා. "ඉමං පූති කායං පත්වා අතිවිය ජිගුච්ඡනීයෝ ජායති" කියන අතීත ආහාර ප්‍රත්‍යවේක්ෂාවේ සහ ඉහත අටුවා පාඨයෙන්, කයට මේ වචනය පාවිච්චි කරන බව සඳහන් වෙනවා.

ඒ වගේම වක්කලී හාමුදුරුවො බුදුන් වහන්සේ දිහාම බලාගෙන ඉන්නකොට උන්වහන්සේ මෙහෙම දේශනා කරනවා. "කිං තේ වක්කලී ඉමිනා පූතිකායේන දිට්ඨේන යෝ බෝ වක්කලී ධම්මං පස්සති සෝ මං පස්සති - වක්කලී මේ පූතිකාය දෙස බලා සිටීමෙන් ඇති ඵලය කුමක්ද? වක්කලිය ධර්මය දැකගන්න. එවිට මාව දැක්ක වෙනවා." මේ දේශනය තුලත් ඉමිනා පූතිකායේන කියල පූතිකාය හෙවත් කුණු ශරීරය ගැන සඳහන් වෙලා තියෙනවා.

මනුස්ස ශරීරයට පූති කාය කියනව නම්, පූති කායේ මුත්‍රවලට පූති මුත්ත කියනව හැර ගෝ මුත්‍ර කියන අර්ථයක් ඒ අර්ථයේ පළාතකවත් නෑ. මේ අනුව පූති මුත්ත කියන්නෙ තමන්ගෙ කයේම මුත්‍ර බව සහේතුකව, සකාරණව සනාථ වෙනවා.

සුමංගල ශබ්ද කෝෂයෙත් පූති මුත්ත කියන වචනය අර්ථ දක්වල තියෙන්නෙ මුත්‍ර ජලය කියල. ඒක ගෝ මුත්‍ර නම්, පෙළ අටුවාවල සඳහන් වෙන්න ඕන "ගෝ මුත්ත" කියල මිසක් "පූති මුත්ත" කියල නෙවෙයි.

ඒ වගේම මුත්‍රා හඳුන්වන නම් කිහිපයක් සඳහන් කරන්න පුළුවන්.

(1) පූති මුත්ත - පැසුනු මුත්‍රා (පූතිකායේ මුත්‍ර)
(2) Water of Life - ජීව ජලය
(3) අමර - අමෘතය
(4) අමරෝලි - අමෘතය සාදාලන ක්‍රමය
(5) ස්ව මුත්‍රා - ස්වකීය මුත්‍ර
(6) ස්වම්බු - ස්වකීය ජලය
(7) සිවම්බු - සිව දෙවියන්ගේ හද්‍ර ජලය
(8) නරදිය - නරයින්ගේ ජලය
(9) නරිජ්ජ - නර දිය

යන්නට ගැමි ව්‍යවහාරයක්

(මෙයින් බිඳී ගිය පදයක් විදිහට ගැමි ව්‍යවහාරයේ එන හුලිජ්ජ කියන පදය දක්වන්න පුළුවන්.)

(10) සුළු දිය - ගැමි ව්‍යවහාරයක්
(11) නර මුත්‍රා - නරයින්ගේ මුත්‍ර
(12) මානව මුත්‍රා - මානවකයාගේ මුත්‍ර
(13) විෂ ඝණ - විස නාසනයක්



පැරණි සිංහල වෙද පොත්වල දරුණු සර්ප විසට නර මුත්‍ර නස්න කිරීම සහ පෙවීම සඳහන් කරල තියෙනවා. විස වෙදකමේදි ප්‍රථමාධාර විදිහටත්, විස නාසක ප්‍රතිකාරයක් විදිහටත් නර මුත්‍ර භාවිතා කරනවා. ඉතාම දරුණු විස ශරීරගත වුනාම ප්‍රතිකාර සඳහා නියම කරල තියෙන "විස නීල" තෛලය නිෂ්පාදනය කරන්න අමු ද්‍රව්‍යයක් විදිහටත් නර මුත්‍ර ගන්නවා.

මුත්‍රවල තියෙන ඖෂධීය ගුණය සහ ශරීරය තුළ වහා ගමන් කිරීමේ ශක්තිය නිසා, සමහර බෙහෙත් ගුලි මුත්‍රාවලින් දිය කරල පොවන්න නියම කරල තියෙනවා. ඒ විදිහට වහා ශරීරගත කිරීමේ ශක්තිය තියෙන්නෙ මුත්‍රාවල අඩංගු ඇමෝනියා නිසා. ඒ ශක්තිය වඩාත්ම තියෙන්නෙ පිටවෙච්ච හැටියෙ අලුත් මුත්‍රවල. ඉස්සර අපට මතකයි, ගින්නෙන් පිච්චුන අවස්ථාවල එතැන මුත්‍රා ගාන සිරිතක් තිබුනා. එහෙම ගෑවම දියපට්ට එන්නෙත් නෑ, දැවිල්ලත් සමනය වෙලා යනවා. ඒ වගේම ගෝනුස්සෙක්, පත්තෑයෙක් කෑවමත් ඒකට ප්‍රතිකාරයක් විදිහට කතා නොකර ඒ ස්ථානයට මුත්‍රා කරන සිරිතක් තිබුනා.

විනය පිටකයේ මහා වග්ග පාළියේ, උග්‍ර විස ශරීරගත වුනාම "මහවිකටය" කියන බෙහෙත තථාගතයන් වහන්සේ විසින් දේශනා කරල තියෙනවා. ඒ බෙහෙතට පොඩි දරුවන්ගේ අසූචි, මුත්‍ර සහ අළු, මැටි කියන හතර වර්ගය එකතු කරල පෙරල බොන්න දෙනවා. ආයුර්වේදයේ පෙන්වා තියෙන මහ විකටයටත් මේ හතර වර්ගයම සඳහන් වෙනවා. කෙනෙකුට හිතෙන්න පුළුවන්, මේ වගේ අපද්‍රව්‍ය බෙහෙත්වලට ගන්නවද කියල. පිටින් පේන මට්ටමෙන් යමක් තීරණය කරන්නෙ නැතිව යථාර්ථවාදීව හිතන්න පුරුදු වෙන්න ඕන. බුදුවරයන් වහන්සේ නමක් යමක් දේශනා කරන්නෙ, එහි සියල්ලේ යථා තත්ත්වය මහා ප්‍රඥාවෙන් මනා කොට දැකල. විනය පිටකයේ අමනුස්ස උවදුරුවලට අමු මස්, අමු ලේ අනුමත කරල තියෙනවා. (අනුජානාමි භික්ඛවේ ආමක මංසං ආමකං ලෝහිතං) මේ දේ ගැන වුනත් කෙනෙකුට වැරදි වැටහීමක් ඇතිවෙන්න පුළුවන්, බුදුවරුන් මේ වගේ දේවල් අනුමත කරනවද කියල.

“යජ්ජරා ව්‍යාධි විද්ධංසං භේෂජං තද් රසායනම්” ආයුර්වේදයේ ප්‍රධාන ග්‍රන්ථයක් වන චරක සංහිතාවේ රෝග සහ මහළු ගතිය නැති කරන බෙහෙතට "රසායනය" කියල කියනවා. ඒ ග්‍රන්ථයේම "නරමූත්‍රං රසායනම්" මනුස්ස මුත්‍ර රසායනයක් කියල විස්තර කරනවා. **ආයුර්වේදයට අනුවත්, බුද්ධ දේශනාව අනුවත් නර මුත්‍ර ඖෂධයක් බව සැක නැතිවම ඔප්පු වෙනවා.**

ආයුර්වේද වෙදකමේ විතරක් නෙවෙයි, බටහිර ඖෂධ නිෂ්පාදන වලටත් අපි නොදන්නව වුනාට මුත්‍රා යොදා ගන්නවා. ඇමරිකාවේ නිෂ්පාදනය කරන පර්ගෝනල් (Pergonal) කියන බෙහෙත, පිරිමින්ගේ වඳභාවය නැති කරල සරු බව ඇති කරන ඉංග්‍රීසි ප්‍රතිකාරයක්. ඒක නිෂ්පා-දනය කරන ප්‍රධාන අමුද්‍රව්‍යය තමයි මුත්‍රා. මේ බෙහෙත සඳහා මාසයකට එක් කෙනෙකුට වැය කරන්න ඕන මුදල රුපියල් 140,000/= ක්.

යුරෝපීය රටවල නිෂ්පාදනය කරන යුරෝ කයිනස් (Uro kinase) කියන බේත නිෂ්පාදනය කරන ප්‍රධාන අමුද්‍රව්‍යයත් මුත්‍රා. හෘදයාබාධ රෝගීන් සඳහා රුධිර කැටි දිය කර හරින්න පාවිච්චි කරන මේ ඉංග්‍රීසි බේතෙ මිල ඉතා අධිකයි. යුරෝ කයිනස් කියන නාමයේ යූරින් හඬ (මුත්‍ර හඬ) අන්තර්ගත බව පේනවා.

මියුරින් අයි ඩ්‍රොප් (Murin Eye Drop) කියන ඇස් බේතත් මුත්‍රාවලින් නිෂ්පාදනය කරන බේතක්. වර්තමානයේ ශ්‍රී ලංකාවේ බහුල වශයෙන් වෙළඳපොලේ තියෙන, තරුණ තරුණියන් රවටල අලෙවි කරන චර්මාලේප, වර්ණාලේප නිෂ්පාදනය කරන්නත් මුත්‍ර යොදා ගන්නවා. ඔබේ සමේ පැහැය, තෙතමනය සහ නිරෝගී සමක් සඳහා කියල වර්ණනා කරමින් අධික මිලකට අලෙවි කරන්නෙ ඔබ ළඟ නොමිලයේම තියෙන මුත්‍රා.

බයිබලයේ “උඹ උඹේම ශරීරයේ ජලය බීපන්” කියල, කෙලින්ම නර මුත්‍රා පානය නියම කරල තියෙනවා. අපි නොදන්නව වුනාට, ඉන්දියාවෙ සහ ඇමරිකාවෙත් ස්ව මුත්‍රා පානය සම්බන්ධ වෛද්‍යවරු ඉන්නව වගේම, මුත්‍රාවලින් ප්‍රතිකාර කරන වෛද්‍ය මධ්‍යස්ථානත් තියෙනවා. මේ අනුව බෞද්ධ පොතපතේ වගේම වෙනත් ආගම් සාස්තෘවරුත් ස්ව මුත්‍රා පානය රෝග සුව කර ගැනීමට අනුමත කරල තියෙනවා.

ස්ව මුත්‍රා පානයෙන් රෝග සුව වෙන්නෙ, රෝග සුව කරන සංඝටක රාශියක් මුත්‍රවල ඇතුලත් වෙලා තියෙන නිසා. "Water of Life" ග්‍රන්ථයේ 2 වන පිටුවේ මුත්‍රවල සංඝටක මේ විදිහට දක්වල තියෙනවා.

| | | |
|---|---|---|
| 1. | Urea-N (Nitrogen) | 682 |
| 2. | Urea | 1459 |
| 3. | Creat | 36 |
| 4. | Creatinine | 97.2 |
| 5. | Uric acid-N | 12.3 |
| 6. | Uric acid | 36.9 |
| 7. | Amino-N | 9.7 |
| 8. | Ammonia N | 57 |
| 9. | Sodium | 212 |
| 10. | Potassium | 137 |
| 11. | Calcium | 19.5 |
| 12. | Mangenesium | 11.3 |
| 13. | Chloride | 314 |
| 14. | Total sulpate | 91 |
| 15. | Inorganic sulphate | 83 |
| 16. | Inorganic phospate | 127 |
| 17. | PH | 6.4 |
| 18. | Total Acitity As C. C. N/10 acid | 27.8 |

**ස්ව මුත්‍රා පානයෙන් ශාරීරික කැඩුම් බිඳුම් හැර අනිකුත් සියලු කායික රෝග සාර්ථක ලෙස කෙටි කලකින් සුව කර ගැනීමේ හැකියාව තියෙනවා.** පිළිකා, ඒඩ්ස් වගේ මාරාන්තික රෝග පවා කිසි මුදලක් වියදම් කරන්නෙ නැතිව මුත්‍රා පානයෙන් පමණක් සුව කර ගන්න පුළුවන්. හෘද රෝග, දියවැඩියාව, කොලෙස්ටරෝල්, රුධිර පීඩනය, උදර රෝග, ඇස් කන්වල ඇතිවන රෝග, දද, කුෂ්ට වගේ චර්ම රෝග... ආදී සියලු රෝග සුව කර ගැනීමේ විස්ව කර්ම බලයක් මුත්‍රාවලට තියෙනවා. ඒ නිසා මේකට කියන්න තියෙන්නෙ "සබ්බ රෝග විනාසාය" කියල.

ස්ව මුත්‍රා පානයෙන් රෝග සුව වීමේ ආශ්චර්ය මමත් අත්දැකල තියෙනවා. ඒ නිසා තමයි සියලු දෙනාටම දැන ගන්න මේ ලිපිය ලියන්න අදහස් කළේ. 2004 වර්ෂයේ විසක් ශරීරගත වීමෙන් මම වසර 16 ක පමණ කාලයක් බොහෝ කායික පීඩා වින්දා. බටහිර වෛද්‍ය ප්‍රතිකාර, හෝමියෝපති, ආයුර්වේද, දේශීය ප්‍රතිකාර, ඒ වගේම තවත් නොයෙක් ශාන්ති කර්ම... ආදිය සිදු කෙරුවත් ඒවා ප්‍රතිකාර ගන්න අවස්ථාවට යටපත් වෙනවා, ප්‍රතිකාර නැවැත්තුවම නැවත රෝගය මතු වෙනවා.

ස්ව මුත්‍රා පානයෙන් රෝග සුව කර ගැනීමේ "ත්‍රිපිටකයේ විස්මිත බෙහෙත" කියන පොත දැනට සති කීපයකට උඩදී මට කියවන්න ලැබුනා. ඒ පොත පුරාම විස්තර කරල තියෙන්නෙ, සත් හට වන භව දුකට වෙදාණන් වූ තථාගතයන් වහන්සේ විසින් වදාළ පූති මුත්ත බෙහෙතින් ලෙඩ සුව කර ගන්න හැටි.

ස්ව මුත්‍රා පානය ගැන මීට පෙරත් යන්තම් දැනගෙන හිටියත්, මේ තරම් ආශ්චර්යක් මුත්‍රාවලින් සිද්ධ වෙන බව සහේතුකව දැන ගත්තෙ ඒ පොත කියවීමෙන්. පොත බැලුව දවසෙම මම ස්ව මුත්‍රා පානය ආරම්භ කළා. සතියක් යනකොට වසර 16 ක් තිස්සේ කිසිම වෛද්‍ය ප්‍රතිකාරයකින් සුව නොවුනු උදර රෝගය සම්පූර්ණයෙන්ම සුව අතට හැරුනා. මම දැන් දිනපතා මේ ප්‍රතිකාරය කරගෙන යනවා. අනිත් අයටත් මේකෙ වටිනාකම කියල දෙනවා.

"පූති මුත්ත භේසජ්ජං නිස්සාය පබ්බජ්ජා තත්ථ තේ යාවජීවං උස්සාහෝ කරණීයෝ" කියන බුදු වදනෙන්, පූති මුත්ත බෙහෙත දිවි ඇති තෙක් ගන්න උත්සාහ කරන්න කියල දේශනා කරල තියෙන්නෙ, ආර්ය මාර්ගය වඩන භික්ෂුවට නිරෝගීව මාර්ගය පූර්ණ කරගන්න මේ බෙහෙත දිව ඔසුවක් වන නිසා බව වැටහුනේ ඊට පස්සෙ.

ලංකාවේ වැඩ හිටපු චිර ප්‍රසිද්ධ යතිවරයාණන් වහන්සේ නමක් වූ බලංගොඩ ආනන්ද මෛත්‍රිය මහා නාහිමියන් මුත්‍රාවලින්, දෙබරුන් දෂ්ට කරල සිහි මූර්ජා වෙලා හිටපු මනුස්සයෙක් සුව කළ ආකාරය ත්‍රිපිටකයේ විස්මිත බෙහෙත නමැති පොතේ සඳහන් වෙනවා.

බලංගොඩ ශ්‍රී ධම්මානන්ද පිරිවෙනේ ස්වල්ප උන්මාද ගතියකින් හිටපු මනුස්සයෙක් බිම බැඳල තිබ්බිච්ච දෙබරයකට උදැල්ලකින් ගැසීම නිසා දෙබරුන් ඇවිස්සිලා විසාල ප්‍රමාණයක් දෂ්ට කරල සිහි නැතිව ඉඳල තියෙනවා. ඒ වෙලාවෙ බලංගොඩ නායක හාමුදුරුවො පොල් කට්ටකට මුත්‍රා කරල ලෙඩාට පොවල ශරීරය පුරාම මුත්‍රා ගාල තියෙනවා. පැය කාලක් ගත වෙන්න ඉස්සර වෙලා ලෙඩා නැගිට්ට බවත්, වෙනත් අය බෙහෙතක් හදාගෙන එනකොට ලෙඩා සුවපත් වෙලා සිටි බවත් ඒ පොතේ සඳහන් කරල තියෙනවා. මෙයින් පේන්නෙ, කොච්චර ක්ෂණිකව ලෙඩ සුව කිරීමේ බලයක් මුත්‍රාවලට තියෙනවද කියන කාරණය.

කලකට ඉස්සර බරණැස ඉසිපතන විහාරයේ වෛද්‍ය සමුළුවක් පැවතිලා තියෙනවා. ඒ සමුළුවේ මුලසුන ගත් උසස් නිලධාරියෙක් තමන්ගෙ කතාවෙදි තමන් අත්දැකල තියෙන බෙහෙතක් ගැන පවසල තියෙනවා. ඔහු පෙනුමෙන් තරුණයෙක් වගේ වුනත් පනස් විය ඉක්ම වූ කෙනෙක්, නිරෝගී ශක්තිමත් පුරුෂයෙක්. තමන්ගෙ කායික ශක්තිය සහ තරුණ බව රැකුනෙ උදේ නින්දෙන් නැගිට්ට ගමන් තමන්ගෙම මුත්‍රා පානය කිරීමෙන් බවත් ඔහු ප්‍රකාශ කරල තියෙනවා. ඔහු "පූති මුත්ත භේසජ්ජං නිස්සාය පබ්බජ්ජා" කියන මේ බුද්ධ දේශනාවත් කියල, පූති මුත්ත කියන්නෙ නර මුත්‍රා කියලත් තෝරල තියෙනවා.

ඒ කාරණය එහෙම වුනත් ලක්දිව, සියම, බුරුම රටවල පූති මුත්තය කියන්නෙ ගෝ මුත්‍රා කියල වැරදි විදිහට අර්ථ කථනය කරගෙන, රෝග නිවාරණය කර ගන්න තිබුන දිව්‍ය ඖෂධයක් මුළු සමාජයෙන්ම අතුගැවිලා ගිහින් තියෙනවා.

ඕනෑම අසනීපයකට පූති මුත්ත බෙහෙත පාවිච්චි කරන්න පුළුවන්. හැබැයි **උදෑසන 4.00 - 5.00 අතර බ්‍රහ්ම මුර්තිය උදා වෙන කාලයේ ගන්න මුත්‍රාවල විශේෂත්වයක් තියෙනවා.** ඒ නිසා ඒ වෙලාවට ගන්න මුත්‍ර පාවිච්චි කරන්න පුළුවන් නම් වඩා හොඳයි. ඒ විදිහට ගන්න මුත්‍රවල මුල හා අග කොටස ඉවත් කරල මැද කොටස පාවිච්චි කරන්න ඕන. ඒ වගේම පාන්දර 3.30 ට පෙර බැහැර කරන මුත්‍රා මේ සඳහා යොදා ගන්නෙ නෑ.

**මේ බෙහෙත පාවිච්චි කරන අය, දවසට අවම වශයෙන් වතුර ලීටරයකට වඩා පාවිච්චි කරන්න ඕන. ඒ වගේම උෂ්ණාධික, ලුණු අධික ආහාර සහ ප්‍රෝටීන් බහුල ආහාර ගන්න හොඳ නෑ. දවසට තුන් වතාවක් ගන්නව නම්, ආහාර ගන්න පැයකටවත් පෙර මුත්‍රා පානය කරන්න ඕන. මත්පැන්, දුම්වැටි, කෝපි පානය නොකළ යුතුයි. ඒ වගේම මෛථුන සේවනයෙන් වැළකිලා සිල්වත්ව පූති මුත්ත පානය කිරීමෙන් ඉක්මන් ප්‍රතිඵල ලබා ගන්න පුළුවන්. හැබැයි මේ බෙහෙතත් ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බව සළකන්න ඕන.**

විවිධ රෝගවලට ප්‍රතිකාර කරන ක්‍රම "ත්‍රිපිටකයේ විස්මිත බෙහෙත" නම් පොතේ සම්පූර්ණයෙන් විස්තර කරල තියෙන නිසා, ප්‍රතිකාර ආරම්භ කරන්න පෙර මේ පොත කියවීමෙන් මේ බෙහෙතේ වටිනාකම තේරුම් ගන්න පුළුවන්. මේ පොත කියවපු කෙනෙක් පූති මුත්ත පානය අනිවාර්යෙන් කරන්න පෙළඹෙනව වගේම ඒකෙ වටිනාකමත් ලෝකයාට පැහැදිලි කරල දෙනවා.

මුදල් තියෙන අය මේ පොත් ටිකක් මිලදීගෙන භික්ෂූන් වහන්සේලාට හෝ පූජා කරනව නම්, උන්වහන්සේලාගේ ආර්ය මාර්ගය වඩා ගැනීමටත් උදව්වක් කළා වෙනවා. ලෙඩ කයක් දරාගෙන ධර්ම මාර්ගයේ හැසිරෙන්න පුළුවන්කමකුත් නෑ. තියෙන රෝග සුව කර ගන්නත්, මතුවට රෝග නොහැදී නිරෝගීව දහම් මග



# ඔබ ආර්ය ශ්‍රාවකයෙක්ද?

**9 වන කොටස**

**දේශක:** අපි මෙතෙක් කතා කරපු දහම් කරුණු ඔබ තේරුම් අරගෙන තියෙන්නෙ කොයි ආකාරයටද කියල බලාගන්න, මම ඔබෙන් ප්‍රශ්න කිහිපයක් අහන්න බලාපොරොත්තු වෙනවා.

**ශ්‍රාවක:** බොහොම හොඳයි. මාත් ඒකට කැමතියි. එතකොට මට හිතාගන්න පුළුවන්, මම කොතෙක් දුරට මේ ධර්මය අවබෝධ කරගෙනද ඉන්නෙ කියල.

**දේශක:** බුදු රජාණන් වහන්සේ නමැති අසම සම වූ ඒ උතුමන් වහන්සේ ලෝකයාට පෙන්වල දුන්නෙ මොකක්ද?

**ශ්‍රාවක:** ඇත්ත. ඒ කිව්වෙ මේ ලෝකයේ සැබෑ තත්ත්වය.

**දේශක:** ඇයි උන්වහන්සේට මේ ඇත්ත තත්ත්වය තේරුම් කරල පෙන්වල දෙන්න සිද්ධ වුනේ?

**ශ්‍රාවක:** බුදු රජාණන් වහන්සේ මේ ලෝකයට පහළ වෙන අවස්ථාවෙ හිටපු සියලුම මිනිස්සු බොරු මුළාවකට අහුවෙලා හිටියෙ.

**දේශක:** ඉතිං ඒ ඔක්කොටම ඇත්ත පෙන්වල දුන්නද?

**ශ්‍රාවක:** ඇත්ත පෙන්වල දුන්නත්, ඒ ඇත්ත දැක්කෙ ටික දෙනයි. ඒ තමයි හේතු වාසනා තිබ්බ්ච අය.

**දේශක:** එදා උන්වහන්සේ පෙන්වල දුන්න ඇත්ත පෙන්වල දෙන්න, අදත් උන්වහන්සේගෙ ශ්‍රාවකයන් වහන්සේලා වැඩ ඉන්නවද?

**ශ්‍රාවක:** අපොයි ඔව්. දැන් නම් මට ඒක සියයට සීයක්ම විශ්වාසයි.

**දේශක:** ඔබේ ඒ උත්තරයෙන් තේරුම් යන්නෙ, ඒ ඇත්ත ඔබත් දැකල තියෙන බව.

**ශ්‍රාවක:** ඔව්, මම ඒ ඇත්ත දැකල තමයි ඉන්නෙ. ඒ ගැන මොන ආකාරයකටවත් සැක සංකාවක් දැන් මට නෑ.

**දේශක:** දැකපු ඇත්ත මොකක්ද කියල තව ටික වෙලාවකින් මම ඔබෙන් අහනවා. දැන් මට කියන්න, මරණින් පසු නැවත උප්පත්තියක් තියෙනව කියල ඔබ විස්වාස කරනවද?

**ශ්‍රාවක:** එහෙම තියෙන බව බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඒ කාරණය මම විස්වාසයෙන් පිළිගන්නවා. ඒ වගේම ධර්මය තුලිනුත් නැණ නුවණට වැටහෙනවා, මරණින් පස්සෙ අපි නැවතත් ඉපදෙනව කියල.

**දේශක:** එහෙම නොබිඳෙන විස්වාසයක් ගොඩනගා ගත්තෙ කොහොමද?

**ශ්‍රාවක:** අපි ඉන්න මේ මනුස්ස ලෝකෙ රුසියාව කියල රටක් තියෙනවා. මම කවදාවත් ඒ රටට ගිහිල්ල නෑ. මගේ ඇස් දෙකෙන් දැකලත් නෑ. මගේ යාළුවෙක්වත් නෑයෙක්වත් එහේ නෑ. ඒත් මම ☞

---

පූර්ණ කර ගන්නත් මේ පූති මුත්ත භේසජ්ජයට හැකියාව තියෙනවා. පිළිකුල් නොකර, නිග්‍රහ කරන්නෙ නැතිව, තථාගතයන් වහන්සේ නමක් මහා ප්‍රඥාවෙන් මෙහි සියලු තතු දැනගෙන දේශනා කළ බවත් සිහි කරගෙන, මේ වටිනා පූති මුත්ත බෙහෙත පාවිච්චි කරල කායික නිරෝගීභාවය ලබල ආර්ය මාර්ගය පූර්ණ කරගෙන මානසික නිරෝගීභාවයත් ලබා ගන්න උත්සාහ කරන්න. ඒ වගේම අනෙක් අයත් දැනුවත් කරන්න මේ පොත් අරගෙන අන්‍යයන්ට බෙදා දෙන්න.

071-6398690 / 071-5218519 **දුරකතන අංක ඇමතීමෙන් මේ පොත ලබා ගන්න පුළුවන්. මතුගම මහින්ද විජේතිලක මහතා තමයි "ත්‍රිපිටකයේ විස්මිත බෙහෙත" කියන මේ පොත සම්පාදනය කරල කරල තියෙන්නෙ.** පොත ගැන හෝ පොතේ අන්තර්ගත කරුණුවල අපැහැදිලි තැනක් තියෙනව නම් ඉහත පළමු අංකයට අමතල තොරතුරු දැනගන්න පුළුවන්.

ඒ වගේම පූති මුත්ත භේසජ්ජය හෙවත් බුද්ධ බේත කියල පොතක් මීතිරිගල නිස්සරණ වනයේ උ. ධම්මජීව ස්වාමීන් වහන්සේ විසින් රචනා කරල තියෙනවා. අවශ්‍ය පින්වතුන් ඉන්නව නම් ඒ පොතත් හොයල බලල ලබාගන්න.

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**

හොඳාකාරවම දන්නවා, රුසියාව කියල රටක් තියෙන බව. ඒ වගේම තමයි නැවත ඉපදෙනව කියල විස්වාසයෙන් පිළි අරගෙන කියන්නෙ.

**දේශක:** අපායයි දිව්‍ය ලෝකයි තියෙනව කියල ඔබ විස්වාස කරනවද?

**ශ්‍රාවක:** ඔව්. බුදු රජාණන් වහන්සේ ඒවා ගැන නොයෙක් අන්දමින් පෙන්වල දීල තියෙනවා. හැබැයි දූන් නම් මට අපාය තිබුනත් එකයි නැතත් එකයි.

**දේශක:** ඇයි එහෙම කියන්නෙ? ඔබට දිව්‍ය ලෝකෙ එහෙම යන්න උවමනාවක් නැත්ද?

**ශ්‍රාවක:** ගියා කියල මොනව කරන්නද? කොයි ලෝකෙ ගියත් මේ ඉන්ද්‍රියන්වලින් රූප, ශබ්ද, ගන්ධ... ආදිය අරමුණු කරගෙන විඤ්ඤාණ මායාවට අහුවෙලා බොරු සැපයකට ඇත්ත කියල රැවටිලා තාවකාලිකව විඳින එකනෙ කරන්නෙ.

**දේශක:** බොරුවකට අහුවෙලා හරි විඳින්නෙ සැපනෙ. කැමති නැත්ද එහෙම සැපක් විඳල බලන්න. ?

**ශ්‍රාවක:** ඔය සැප ටිකට අහුවෙලා තමයි අනන්ත සංසාරෙ මේ ගමන යන්නෙ. සැප විතරක් නෙවෙයි, ඔය ඉන්ද්‍රියන් හරහා දුකත් එනවනෙ. සැප මාත්‍රයක් ලබා ගන්න දුක් කන්දක් විඳින්න වෙනවා. ඒ මදිවට ඒවා සැපක් විදිහට විඳින්න ගිහින් ලෝභ ද්වේශ ගති වැඩි කරගෙන අමාරුවෙ වැටෙන්නෙ මොකටද?

**දේශක:** සැපට බය වෙලා වගේ පේන්නෙ.

**ශ්‍රාවක:** මම ඇත්තටම බය වෙලා ඉන්නෙ දුකට. ලෝක ආස්වාදය විඳින්න ගිහින්, කල්ප කාලාන්තරයක් දුක් විඳින්න සිද්ධ වෙන බය නිසා තමයි මම රාග, ද්වේශ, මෝහවලින් අයින් වෙන්න උත්සාහ කරන්නෙ.

**දේශක :** ඔබ කියන්නෙ ලෝකෙ ආස්වාදයක් නෑ කියලද? මේ ලෝකෙ ඉන්නකොට නෙවෙයිද ඔබට සැප දැනෙන්නෙ?

**ශ්‍රාවක:** මේ ලෝකෙ ඉන්න අයට සැප දැනෙනව තමයි. ඒ නිසා තමයි මේ ලෝක සත්ත්වයින් හේතු සහිතවම මේ ලෝකයට ඇලෙනව කියල බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ.

**දේශක:** ඔව්. <u>මහාලී සූත්‍රයේ</u> (සංයුක්ත නිකාය 3 - 119 පිටුව) තමයි හේතු සහිතවම දේශනා කරල තියෙන්නෙ, සත්ත්වයෝ මේ ලෝකයට ඇලිල මහා විපතකට පත් වෙනව කියල. එතකොට කොහොමද හේතු සහිතවම ආස්වාදය පසුපස හඹායන ගමනෙදි ලෝක සත්ත්වයින් මේකෙන් ගැලවෙන්නෙ?

**ශ්‍රාවක:** මේ ලෝකෙ ආදීනවයක් තියෙනවා. ඒක දැකපු අය හේතු සහිතවම මේ ලෝකයෙන් මිදෙන්න උත්සාහ කරනවා.

**දේශක:** ඔව්. මිදෙන්න පුළුවන් ක්‍රමවේදයකුත් තියෙනවා. මේ ආදීනවය දැකපු ලෝක සත්ත්වයින්, පහසුවෙන්ම මිදෙන ක්‍රමය අනුගමනය කරනවා. මේ අය නොදන්නව වුනාට, මේ සියලුම දෙනා ආස්වාදය විඳින්න බලාපොරොත්තුව තියෙන කල් ලෝකයේ කොහේ හරි උපදිනවා. හැබැයි ආදීනවය දැකපු අය ලෝකයෙන් මිදෙන්නත් කටයුතු කරනවා. ආස්වාද විඳීමේ බලාපොරොත්තුව තමයි ලෝක සත්ත්වයාගේ කැමැත්ත. ඒක සංසාර ගමනට හේතුව කියල දැනගන්නෙ කොහොමද?

**ශ්‍රාවක :** මේ ලෝකෙ තියෙන ප්‍රියමනාප දේවල්වලට තමයි කවුරුත් කැමති. මේ කැමැත්තට තමයි තණ්හාව කියන්නෙ. මේ ලෝකෙ තියෙන ප්‍රියමනාප රූප, ශබ්ද, ගන්ධ... ආදිය හැදෙන්නෙ කොහොමද කියල හොඳට විමර්ශනය කරල බලන්න ඕන. ඒවා නිසා ආස්වාදය හැදෙන්නෙ කොහොමද කියලත් බලන්න ඕන.

**දේශක:** ඔව්. අපි ඒ ගැන සාකච්ඡා කරල තියෙනවා. ඇසෙන් රූපයක් බැලුවම ඒ රූපය ගැන ඇස හරහා දැනීමක් ඇති කරගන්නවා. ඒක තමයි චක්ඛු විඤ්ඤාණය කියල කියන්නෙ. ඒ දැනීම හදාගන්නෙ ඒ රූපයට තමන් බැඳිල ඉන්න දෘෂ්ටිය අනුව. ඒ වගේම තමන්ට පටිසන්ධියෙන් ලැබුන විපාක ගතිය අනුව යමක් ප්‍රිය හෝ අප්‍රිය අමනාප විදිහට දැනෙනවා. ඒ රූපය ප්‍රිය මනාප නම් ඒක නැවතත් ඇසුරු කරන්න බලාපොරොත්තුවක් ඇති කරගන්නවා. ඒ කියන්නෙ රාගයෙන් බැඳෙනවා. ඒ රූපය අප්‍රිය අමනාප නම් ඒකත් එක්ක ගැටිල ද්වේශයක් හදා ගන්නවා.

**ශ්‍රාවක:** ඔය විදිහට තමයි ආස්වාදජනක ප්‍රියමනාප දේවල්වලට ඇලීමෙන් කටයුතු කරල ලෝභයකුත්, අප්‍රිය අමනාප දේවල්වලට ගැටීමෙන් කටයුතු කරල ද්වේශයකුත් හදාගෙන දස අකුසලය වුනත් කරන්න පෙළඹෙන්නෙ.

**දේශක:** අකමැත්තක් හදාගන්න හේතුව මොකක්ද?

**ශ්‍රාවක:** අකමැති දෙයක් තියෙනව කියල කියන්නෙ, ඒක සිද්ධ වෙලා තියෙන්නෙ තමන්ගෙ කැමැත්තට විරුද්ධ විදිහට. ඒ අනුව හිතාගන්න පුළුවන්, තමන් කැමති විදිහක් තියෙනව කියල. ඒකට එකඟ නැති නිසයි තමන් අකමැති වෙලා තියෙන්නෙ. මේ විදිහට තේරුම් කරගත්තම වැටහෙනවා, අකමැත්තට ඇත්තටම හේතුව කැමැත්තමයි කියල.

**දේශක:** මේ ආකාරයට මිනිස්සු තමන් කැමති දේවල්වලට ඇලෙනවා. කැමැත්තට විරුද්ධව යමක් ආවොත් තමයි ගැටෙන්නෙ. ඒ බව <u>ඡ ඡක්ක සූත්‍රයෙන්</u> (මජ්ඣිම නිකාය 3 - 591 පිටුව) පැහැදිලි කරන්න පුළුවන්.

චක්ඛුඤ්ච භික්ඛවේ, පටිච්ච රූපේච
උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං
තින්නං සංඝති ඵස්සෝ
ඵස්ස පච්චයා උප්පජ්ජති වේදයිතං
සුඛංවා දුක්ඛංවා අදුක්ඛම සුඛංවා.

සෝ සුඛාය වේදනාය
ඵුට්ඨෝ සමානෝ අභිනන්දති
අභිවදති අජ්ජෝසාය තිට්ඨති.

තස්ස රාගානුසයෝ අනුසේති.
දුක්ඛාය වේදනාය ඵුට්ඨෝ සමානෝ
සෝචති කිලමති පරිදේවති
උරත්තාළිංකන්දති සම්මෝහං
ආපජ්ජති.
තස්ස පටිඝානුසයෝ අනුසේති.

සරල අදහස : ඇසෙන් රූපයක් දකිනකොට චක්ඛු විඤ්ඤාණය උපදිනවා. ඇසයි, රූපයයි, චක්ඛු විඤ්ඤාණයයි කියන තුනම ආධාර කරගෙන ස්පර්ශයක් හදාගන්නවා. ඒ ස්පර්ශයෙන් විඳීමක් හටගන්නවා. ඒක සුව හෝ දුක් හෝ නොදුක් නොසුව හෝ වෙන්න පුළුවන්.



දුන් සැප වේදනාව අභිනන්දනය කිරීමෙන් රාගය ගොඩ නැගෙනවා. ඒ කියන්නෙ නැවත නැවත ඒ සුවය බලාපොරොත්තු වෙනවා. ඒ වගේම දුක් වේදනාවත් සමග ගැටීමෙන් පටිඝය ගොඩ නැගෙනවා. සාමාන්‍ය අය ඇත්ත නොදන්න නිසා තමයි රූපයත් සමග ඇලීමක් හෝ ගැටීමක් හෝ හදාගන්නෙ. ඒ ඒ අවස්ථාවෙදි නැගෙන ලෝභ සහිත තත්ත්වය හෝ ද්වේශ සහිත තත්ත්වය හෝ මගින් තමන්ටම මහා අනතුරක් වන බව ඒ කවුරුවත්ම දන්නෙ නෑ.

**ශ්‍රාවකඃ** ඔය විදිහට කිසිම තේරුමක් නැතිව, මේ ලෝකයේ තියෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ... ආදියට ඇලීමක් හෝ ගැටීමක් හෝ හදා ගත්තොත් ඒක තමන්ම කරගන්න විනාසයක්. මේ ශ්‍රී සද්ධර්මය දැකගත්තට පස්සෙ, ඔය මහා දුක් කන්දරාවට කොටු වෙන්න මට කිසිම උවමනාවක් නෑ. අනිත් එක මේ ලෝක සත්ත්වයා ඔය විදිහට ලෝභ ද්වේශ බවට පත් වෙන නිසාම අවසානයේ යන්නෙ මහා දුක් සහිත සතර අපායකට කියලත් බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා.

**දේශකඃ** එහෙනම් ඔබ මේ අපායට බය වෙලා තමයි මේ සසරෙන් එගොඩ වෙන්න හදන්නෙ.

**ශ්‍රාවකඃ** මේ ලෝක සත්ත්වයන්ට මහා දුක් කන්දකට මුහුණ දෙන්න වෙන්නෙ සතර අපාගත වුනාට පස්සෙ. ඒ බව බුදු රජාණන් වහන්සේ බොහෝ විස්තර සහිතව දේශනා කරලත් තියෙනවා. හැබැයි කවුරුහරි මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල මේ ලෝකයේ රූප පස්සෙ හඹාගෙන යෑම කිසිම තේරුමක් නැති මෝඩ වැඩක් කියල වැටහුනාට පස්සෙ අපායක් තිබුනත් එකයි, නැතත් එකයි. අසාරත්වය වටහා ගැනීම තුලින් ඒවා පසුපස හඹා යාම ඉබේම නවතිනවා.

**දේශකඃ** ඒක නම් බොහොම වැදගත් අදහසක්. මොකද මේ ලෝකෙ ඉන්න සමහරක් අය, ඔය අපාය දිව්‍ය ලෝක ඇස් දෙකට පේන්නෙ නැති නිසා, එහෙම තැන් තියෙනව කියල පිළිගන්නෙ නැනෙ. ඒ අයට යහපතක් වෙන්න කියල හිතල, කියන්න බලන්න අපාය තිබුනත් නැතත් ඔබ මේ ලෝකෙන් මිදෙන්න කටයුතු කරන්නෙ ඇයි කියල.

**ශ්‍රාවකඃ** මේ මුළාවෙන් මිදෙන්න අපායක් තියෙනවද නැත්ද කියල දැනගන්නම අවශ්‍ය වෙන්නෙ නෑ. මම මේ මුළාවට අහු නොවී ඉන්නකොට ලැබෙන සුවය දැනටමත් අත්විඳල ඉන්නෙ. මුළා සැපක් පස්සෙ ගිහින් මට ඒ ලැබෙන මානසික සහනය නැති කරගන්න උවමනාවක් නෑ. ඒ විතරක් නෙවෙයි, අපායක් තිබුනත් නැතත් මේ ලෝකයේ හරයක් කියල ගන්න කිසිම දෙයක් නෑ. මොකද අපි කැමති විදිහට අපේ වසඟතාවයේ පවත්ව ගන්න පුළුවන් එකක්වත් මේ ලෝකයේ නෑ. ඒ නිසා ලෝකයේ දේවල් අල්ලගෙන ඉන්නව කියන්නෙ නිකං වෙහෙස මහන්සියක් විතරයි. කොටින්ම කියනව නම් මේ ලෝකයේ ජීවත් වෙන්න හුස්ම ගන්න එක පවා වෙහෙසක්.

**දේශකඃ** මේ ලෝකෙ හොඳටම දැනෙන සැපයට ඔබ මුළා සැපයක් කියන්නෙ කොහොමද?

**ශ්‍රාවකඃ** ඔව් ඔව්, හොඳට දැනෙන සැපක් තියෙනව තමයි. ඒක මුළාවක් කියන්න, එහෙමත් නැත්නම් හරයක් නැති වැඩක් කියල කියන්න ගොඩක් හේතු තියෙනවා.

අපේ ඉන්ද්‍රියන්ට බාහිර අරමුණු අරගෙන විඳින සැප තියෙන්නෙ ඉතා කුඩා කාලයක් පමණයි. අපි නොදැනුවත්වම ඒ පොඩි සැපය ගන්න සැහෙන වෙහෙස මහන්සි වෙන්න සිද්ධ වෙනවා. මේ මුළා සැප මහ වටින එකක් කියල හිතාගෙන ඒ සැප යළි යළිත් ලබාගන්න නොයෙක් දේවල් කරන කොට, දන්නෙම නැතිව දස අකුසලයම අපේ අතින් සිද්ධ වෙලා ඉවරයි. ඉතින් මම මොකටද බොරුවකට මුළා වෙලා අනිත් අයට කරදර කරන්නෙ? නැවත නැවත විඳින්න නම්, නැවත නැවත වෙහෙස මහන්සි වෙන්න සිද්ධ වෙනවා. කොච්චර වෙහෙස වුනත් අවසානයෙදි පොඩි සැපයකින් මේ වෙහෙස වහල දාන නිසා වෙහෙස වෙච්ච බවක් අපි දන්නෙ නෑ. මේ සැප විඳීම, මස් ලේ නැති ඇටයක් බල්ලෙක් අත්හරින්නෙ නැතිව ලෙව කනව වගේ වැඩක්. තමන්ට ලැබෙන දෙයක් නෑ. කටත් තුවාල වෙනව මදිවට අවට ඉන්න බල්ලන්ගෙ ප්‍රහාරයන්ට ගොදුරු වෙන්නත් සිද්ධ වෙනවා. අපිට නොතේරුනාට මේ වගේ තමයි සැප පස්සෙ හඹා යන එකත්.

**දේශකඃ** සැප ගන්න කියල හිතල අපි එක් රැස් කරගත්ත දේවල් ආරක්ෂා කරගන්නත් වෙනවා. අනිත් අයත් ඒ දේවල්වලට පොර කනවා. ඒ නිසා අපි එක් රැස් කරගත්ත දේවල් ආරක්ෂා කරනකොට දන්නෙම නැතිව දස අකුසලයම අපේ අතින් සිද්ධ වෙලා ඉවරයි.

**ශ්‍රාවකඃ** ඔව්. ඒ සියලුම දේවල් ආරක්ෂා කරගන්න සැහෙන වෙහෙසක් දරන්න සිද්ධ වෙනවා. ඒකත් අපිට පේන්නෙ නැති තවත් දුකක් තමයි.

**දේශකඃ** සැප නිසා විතරමද ලෝක සත්ත්වයා මේ දුක් විඳ විඳ සංසාරෙ සැරිසරන්නෙ?

**ශ්‍රාවකඃ** ඔව්. ඒක ප්‍රධාන කාරණයක් තමයි. කයට දැනෙන මුළා සැපයට අමතරව සත්ත්වයෝ මේ සසරට ඇලිල දිගින් දිගටම යන්න තවත් කරුණු කාරණා තියෙනවා.

**දේශකඃ** ඒවායින් කිහිපයක් පැහැදිලි කරන්න.

**ශ්‍රාවකඃ** සමාජයට සේවය ☞

කරන්න තියෙන අදහස, ලෝක සම්මතයට අනුව වැරදි නොකර පිං රැස් කරන්න තියෙන උවමනාව, දැනට ලැබිල තියෙන දේවල්වලට ඇති මානය. ඒ වගේ තවත් නොයෙකුත් හේතු තියෙන්න පුළුවන්. හැබැයි ඒ සියල්ලෙන්මත් සත්ත්වයා බලාපොරොත්තු වෙන්නෙ මුළා සැපයක්ම තමයි. මේ ඔක්කොම කරන්නෙ ඒ මුළා සහගත සැප බලාගෙන. ඒකට තියෙන තණ්හාව තමයි දිගින් දිගටම සසර යන්න හේතු වෙන්නෙ.

**දේශක:** ඔව් ඔය හේතු ඔක්කොම ඇතුලත් වෙලා තමයි දස සංයෝජන කියන බැමි දහයකින් හැමෝම ලෝකෙට බැඳිල ඉන්නෙ. නමුත් සැප පස්සෙ හඹා යෑම මුළාවක් කියල අහගත්ත පමණින් ඒ බැමි දහයෙන්ම ගැලවිලා යයිද?

**ශ්‍රාවක:** නෑ. නමුත් ඒ කාරණය වැටහුනාම ගැලවෙන්න පටන් ගන්නවා. එහෙම ගිහින් පියවර කිහිපයකින් ඒ බැමි දහයෙන්ම ගැලවිලා යන්නත් පුළුවන්.

**දේශක:** ඔව්. දස සංයෝජනයෙන් මිදුන කියන්නෙ රහතන් වහන්සේ නමක් බවට පත් වුනා කියන එකම තමයි. කොහොමද දස සංයෝජන බැමි බිඳින්න පටන් ගන්නෙ.

**ශ්‍රාවක:** ලෝකයේ ආදීනව දැක්ක ප්‍රඥාවන්තයෙකුට තමයි සංයෝජන බැමි බිඳෙන්න පටන් ගන්නෙ. උදාහරණයක් විදිහට ඇස කියන ඉන්ද්‍රිය අරගෙන විමර්ශනය කළාම මේ විදිහට විස්තර කරන්න පුළුවන්.

ඇසෙන් රූපයක් දකිනකොට ඇසේ දැනීම (චක්ඛු විඤ්ඤාණය) උපදිනවා. ඒ තුනෙන් (ඇස, රූපය, චක්ඛු විඤ්ඤාණය) තමයි ස්පර්ශය හැදෙන්නෙ. ඒ ස්පර්ශයෙන් තමයි සුබ හෝ දුක හෝ දුක් හෝ සුබ නැති (උපේක්ඛා) විඳීමක් හටගන්නෙ. ඒ සුව දැනීමට බැඳිල ඒක නැවත නැවත බලාපොරොත්තු වෙමින් ලෝකයට ඇලෙන්නත්, දුකට ද්වේශයෙන් බැඳිල දුක් කරදර විඳින්නත් තමයි අපි පුරුදු වෙලා තියෙන්නෙ. මේ ක්‍රමවේදය දැනගෙන අත්දැක්කට පස්සෙ, බාහිරව තියෙන රූප, ශබ්ද, ගන්ධ... ආදියේ කිසිම වටිනාකමක්, හරයක් නෑ කියල වැටහීමක් එනවා. ඒ විතරක් නෙවෙයි, ඒවා ඇසුරු කරන්න භාවිතා කරන ඉන්ද්‍රියන් හයට තියෙන වටිනාකමත් බැහැල යනවා. ඒකට තමයි සත්කාය දිට්ඨිය බිඳිල යනව කියන්නෙ.

**දේශක:** ඔව්. මේ ලෝක සත්ත්වයින් ඉන්නෙ සුවයක් සතුටක් ලබාදෙන මේ ඉන්ද්‍රියන් හයයි බාහිරව තියෙන රූපයි හරි වටිනව කියන දෘෂ්ඨියකනේ. මේ විඤ්ඤාණයෙන් කරන මුළාව වටහගෙන ඒක අත්දැක්කට පස්සෙ ඒ දෘෂ්ටිය බිඳිල යනව තමයි. ඒ දැකීම තුලින්ම තවත් බැමි ලිහෙනවද?

**ශ්‍රාවක:** මේ ලෝකයේ ඉන්න වැඩි දෙනෙකුට අවශ්‍ය වෙන්නෙ හොඳින් සුවයෙන් කාලය ගත කරන්න. ඒ අය විවිධ දේවල් කරමින් සතුටින් ඉන්න උත්සාහ කරනවා. කොටින්ම කිව්වොත් නිවනක් (සහනයක්) ලබාගන්න තමයි කවුරුත් කැමති. ඒ සඳහා බොහෝ දෙනෙක් විවිධ ආගම්වල විස්තර කරල තියෙන වත් පිළිවෙත් අනුගමනය කරනවා. විවිධ සමාජ සේවා කටයුතු කරනවා. අනිත් අයට උදව් උපකාර කරන සමාජ සේවා ආයතන හදාගෙන වැඩ කරනවා. කන බොන, අඳින පළඳින දේවල්වලින් පවා වැළකිලා සහනයක් ලබාගන්න වෙහෙස මහන්සි වෙලා කටයුතු කරනවා. ඔය කරුණු කාරණා සියල්ලම අයිති වෙන්නෙ සීල ව්‍රත පරාමාසයට. මේවා තුලින් සහනයක් විඳින්න උත්සාහ කරපු කෙනෙක් ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල මේ මුළාව දැක්කොත්, ඒ පුද්ගලයා තේරුම් ගන්නවා, ඒවායින් නිවනක් ලබන්න බැරි බව. ඒ වගේම මේ ලෝකයෙන් මිදෙනව හැර වෙන විකල්පයක් නැති බවත් වටහ ගන්නවා.

**දේශක:** ඒ කියන්නෙ මේ අසාරත්වය, එහෙමත් නැත්නම් මුළාව වටහ ගන්න කෙනා, සිල්වත් පරමාශ්‍රය කරල නිවනක් ලබාගන්න බෑ කියල වටහ ගෙන, ලෝකයට බැඳෙන ඒ සංයෝජනයන්ගෙන් වෙන් වෙනව කියන එකමයි. මේ අවබෝධයම උදව් කරගෙන තවත් එක බැඳීමකින් නිදහස් වෙන්න පුළුවන්. ඒ ගැන ඔබ තේරුම් අරගෙන ඉන්නෙ කොහොමද?

**ශ්‍රාවක:** ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල මේ ලෝකයේ හැටි වටහ ගත්තා. ඒ කියන්නෙ නියම ස්වභාවය යථාර්ථය, එහෙමත් නැත්නම් ඇත්තට මෙතන සිද්ධ වෙන්නෙ මොකක්ද කියන එක. හැබැයි ඒ කාරණය මීට පෙර දැනගෙන හිටිය එකක් නෙවෙයි. ඒක දැනගත්තට පස්සෙ තමයි තේරෙන්නෙ, මෙච්චර කල් බොරු මායාවකට අහුවෙලා කිසිම තේරුමක් නැතිව, අපි අනික් අයට කරදර කර කර හිටපු එක ඇරෙන්න වෙන හරයක් ඇති වැඩක් වෙලා නෑ කියල. ඒ නිසා මෙච්චර කල් කරපු මේ විකාර වැඩවලින් පුළුවන් තරම් මිදෙන්න උත්සාහ කරනවා. ලෝකයේ ඉන්නකොට සමහර විකාර වැඩ කරන්න සිද්ධ වුනත් ඒවාට ඒ හැටි කැමැත්තක් නෑ. නොකර බැරිකමට කරනවා. මේ නියම සත්‍යය දකින කෙනා දැනුවත්ව බොරුවක් මුළාවක් කරන්නෙ නෑ. ඒ පුද්ගලය දැනගන්නවා, බුදු රජාණන් වහන්සේ නමක් පහළ වෙලා මේ ආකාරයට සත්‍යය පෙන්වා දුන්නත් නැතත්, ලෝකයේ පවතින සත්‍ය ක්‍රමවේදය මේක තමයි කියල. ඒ නිසා බුදු රජාණන් වහන්සේ ගැනත්, මේ ශ්‍රී සද්ධර්මය ගැනත්, ඒ ධර්මයේ හැසිරිලා ලෝකෝත්තර සුවය අත්විඳින මහා සංඝ රත්නය ගැනත් කිසිම සැකයක් ඇති කරගන්නෙ නෑ.

**දේශක:** ඔව් ඔය ආකාරයට විචිකිච්ඡාව, එහෙමත් නැත්නම් අද සැකය කියල හඳුන්වන බැම්මෙනුත් ගැලවිලා යන්න පුළුවන් වෙන්නෙ මේ මුළාව දැක්ක කෙනාට. මේ විදිහට ලෝකයෙන් මිදෙන්න පටන් ගන්න පුළුවන් වෙන්නෙ මේ ශ්‍රී සද්ධර්මය නිවැරදිව ශ්‍රවණය කළොත් තමයි. තවත් විදිහකට කියනව නම්, විකෘති වැඩවලින් අයින් වෙනව කියන්නෙ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ... ආදිය පස්සෙ නොදන්නකමට, මෙච්චර කල් සමාජ සම්මත පවා බිඳ දමමින් අසීමිතව හොය හොයා ගිය ගතිය අත්ඇරල දානව කියන එකම තමයි. ප්‍රඥාව වැඩෙන මට්ටමට, අනවශ්‍ය වැඩ අත්හැරෙන ප්‍රමාණයත් වැඩි වෙනවා. ඇත්තටම ප්‍රඥාව වැඩෙනකොට නිරායාසයෙන්ම අත්හැරෙනවා. එහෙම නැතුව හිතල මතල අත්හරින්න දෙයක් නෑ. ඒ ආකාරයට මේ ලෝකයේ සත්‍යය දැකීමේ සහනය තමන්ම අත්විඳින කොට බුදු රජාණන් වහන්සේ ගැනවත්, ඒ ධර්මය ගැනවත්, ඒ අත්දැකීම ලබාගෙන ඇති මහා සංඝ රත්නය ගැනවත් කිසිම සැකයක් ඇති වෙන්නෙ නෑ.

**ශ්‍රාවක:** මේ ධර්ම සාකච්ඡාවට සම්බන්ධ වුනාට පස්සෙ මම හුඟක් ධර්ම කරුණු දැනගත්තා. වැඩි හරියක්ම කරුණු මෙච්චර කල් හිතාගෙන හිටිය ඒවා නෙවෙයි. දැන් මේ ධර්ම



සාකච්ඡාව හැම මාසයකම නැවතත් මුල ඉඳලම පටන් අරගෙන කරුණු පැහැදිලි කිරීම අපිට හරි වටිනවා. මොකද දෙවැනි වතාවට අහනකොට පළවෙනි වතාවෙ අවබෝධ නොවුන කෙනාට වැටහෙන්න පටන් ගන්නවා. එහෙම වෙන්නෙ කොහොමද?

**දේශකඃ** ඒකට හොඳ උත්තරයක් ආලවක සූත්‍රයේ තියෙනවා. ආලවක යක්ෂයා බුදු රජාණන් වහන්සේගෙන් අහනවා, ප්‍රඥාව ලබා ගන්නෙ කොහොමද කියල. ඒකට දෙන පිළිතුර තමයි ධර්ම ශ්‍රවණය. ඔබ මේ ශ්‍රී සද්ධර්මය අහන්න අහන්න වැඩෙන්නෙ ඔබේ ප්‍රඥාව. අහන අහන වාරයක් පාසා වැඩෙන ප්‍රඥාව තමයි පෙර නොඇසූ ධර්මය විදිහට වැටහෙන්නෙ.

**ශ්‍රාවකඃ** ඒක නම් ඇත්ත තමයි. මේ සාකච්ඡාවලින් ඇහුවෙ පෙර නොඇසූ ධර්මයක්ම තමයි. දැන් තමයි මට වැටහෙන්නෙ, බුදු දහම කියන්නෙ අනුගමනය කරන අයට ඒ අවස්ථාවෙදීම සහනය ලබාගන්න පුළුවන් ප්‍රායෝගික වැඩපිළිවෙලක් කියල. හැබැයි මම මේ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ වෙන්න ඉස්සෙල්ල හිතාගෙන හිටියෙ, බුදු දහම ප්‍රායෝගිකව කරන්න පුළුවන් එකක් නෙවෙයි කියල.

**දේශකඃ** ඔබ විතරක් නෙවෙයි, මේ රටේ බොහෝ දෙනෙක් බුදු දහම ප්‍රායෝගික නෑ කියල තමයි හිතාගෙන ඉන්නෙ. ඒ හැමෝම ගැන බොහොම අනුකම්පාවෙන් බලන්න ඕන. මොකද ඒ අය එහෙම කියන්නෙ නොදන්නකමට. අපි ඒ අයටත් කවදහරි මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන්න ලැබිල මේ සතර අපායෙන් සදහටම නිදහස් වෙන්න ලැබේවා කියල ප්‍රාර්ථනා කරමු.

**ශ්‍රාවකඃ** මේ සත්‍යය දැක්කට පස්සෙ, ඒ අනුව ලෝකයේ කටයුතු කරන ගමන් ඇලීමෙන් ගැටීමෙන් බේරිලා ඉන්න උත්සාහ කරන මම සතර අපායෙන් නිදහස් වෙලා කියල දැනගන්නෙ කොහොමද?

**දේශකඃ** මම දැනගෙන හිටියා ඔබ කොයි වෙලාවක හරි ඔය වගේ ප්‍රශ්නයක් අහයි කියල. මොකද මේ දහම අවබෝධ කරගත්ත බොහෝ පිරිසකට ඔය ප්‍රශ්නය පැන නගිනවා. පළමුවෙන්ම කියන්න ඕන, ඔබ මේ ධර්මය ශ්‍රවණය කළාට පස්සෙ යම් මාර්ග ඵලයකට පත්වුනාද නැත්ද කියන කාරණය හරියටම කියන්න පුළුවන් එකම එක උත්තමයා තමයි ලොව්තුරා බුදු රජාණන් වහන්සේ. උන්වහන්සේ දැන් පිරිනිවන්පාල නිසා, කාටහරි ලැබුන මාර්ග ඵලයක් එල්ල කරල කියන්න පුළුවන් කෙනෙක් අද මේ තුන් ලෝකයේම ඉන්න විදිහක් නෑ.

**ශ්‍රාවකඃ** එහෙනම් ඉතින් මට දැනගන්න විදිහක් ඇත්තෙම නෑ.

**දේශකඃ** නෑ එහෙම හිතන්න එපා. කාගෙ හරි මාර්ග ඵල අනිත් අයට කියන්න බැරි වුනාට තමන්ටම දැනගෙන කැමති නම් කියන්නත් පුළුවන්.

**ශ්‍රාවකඃ** ඒ කොහොමද එහෙම වෙන්නෙ? සෝවාන් වුන අය එහෙම වුනා කියල කියන්නෙ නැනෙ!

**දේශකඃ** කවුද ඔබට කිව්වෙ එහෙම මාර්ග ඵල කියන්නෙ නෑ කියල?

**ශ්‍රාවකඃ** ඔය හැමෝම කියන්නෙ.

**දේශකඃ** ඔව් මම දන්නව හැමෝම කියනව කියල. මීට පස්සෙ කවුරුහරි එහෙම කිව්වොත්, ඒක නිකම්ම පිළිගන්නෙ නැතිව, ඒ පුද්ගලයගෙන් අහන්න කොහොමද එහෙම කියන්නෙ කියල. එතකොට ඒ අයට උත්තර නැතිව යනවා. බොරු කතාවක් පතුරවනව මිසක් වෙන හේතුවක් නෑ. ත්‍රිපිටකයේ ඉතාම පැහැදිලිව තියෙනවා එහෙම කියන්න පුළුවන් කියල. හැබැයි සුදුසු අවස්ථාවලදී විතරයි.

**ශ්‍රාවකඃ** හරි මම එහෙම කියන්න නම්, මම දැනගෙන ඉන්න ඕන නේද මට මාර්ග ඵල ලැබිල කියල?

**දේශකඃ** ඒකට ක්‍රමවේද කිහිපයක් තියෙනවා. අපි ඒ ගැන විස්තර සහිතව කතා කරමු. මේ සඳහා බුදු හාමුදුරුවො හොඳ උදාහරණයක් දීල තියෙනවා. වෑයකින් පොල් පරාල කර්මාන්තය කරන කෙනෙක්, අලුතින් වෑයට මිටක් ගහල ඒකෙන් වැඩ කරන්න පටන් ගන්නව කියල හිතන්න. සෑහෙන්න කාලයක්, ඒ කියන්නෙ වසර හතරක් පහක් වැඩ කරන කොට, ඒ වෑයෙ මිටේ ඔහුගෙ ඇඟිලි පාරවල් හොඳට අතට දැනෙන ආකාරයට පිහිටනවා.

**ශ්‍රාවකඃ** වෑයෙන් පොල් කඳන් සුද්ධ කරනව මමත් දැකල තියෙනවා. ඒ වෑය අල්ලන්න ඕන විදිහක් තියෙනවා. ඒ විදිහට ඇල්ලුවෙ නැත්නම් කඳ හැරෙනවා. එහෙම නැත්නම් වැඩ කරන කෙනාගෙ කකුලට වදින්නත් පුළුවන්. ඒ නිසා බොහොම කල්පනාවෙන් කරන්න ඕන වැඩක්.

**දේශකඃ** ඒ නිසා ඒ පුද්ගලයට හැමදාම වෑය අල්ලන්න වෙන්නෙ එකම තැනකින්මයි. ඒ නිසා තමයි අවුරුදු හතරක් පහක් වැඩ කරන කොට ඇඟිලි පාරවල් හොඳට හිටින්නෙ. දැන් ඔය වෑයෙ මිට පරීක්ෂා කරන කෙනෙක් ඒ පුද්ගලයගෙන් අහනවා, වෑයෙ මිටේ ඔබේ ඇඟිලි පාරවල් තියෙනවා, ඔය ඇඟිලි පාරවල් හිටියෙ කවද්ද කියල. ඒකට නිවැරදි උත්තරය හොඳට කල්පනා කරල බලල කියන්න.

**ශ්‍රාවකඃ** වැඩ කරන අතරතුර තමයි ඒ ඇඟිලි සලකුණු හිටියෙ. හැබැයි අලුතින් මිටක් ගහල පළමු වරට මිට අල්ලපු අවස්ථාවෙදිත් ඇඟිලි පාර හිටියා. නමුත් ඒක බැලු බැල්මට පේන්න තරම් ප්‍රබල නෑ. කාලයක් යත්දි තමයි ඒක ඇස් දෙකට පේන්නෙ.

**දේශකඃ** හරියට හරි. ඔය ආකාරයට තමයි මේ ශ්‍රී

සද්ධර්මය අහල මාර්ග ඵලයකට පත්වෙලා කියල වැටහෙන්නෙත්. පළමු වරට ශ්‍රී සද්ධර්මය අවබෝධ වෙන වෙලාවෙම තමයි මේ ලෝකයේ සත්‍යය වටහ ගෙන මාර්ග ඵලය ලබන්නෙ. නමුත් ඒක බැලූ බැල්මට පේන්නෙ නෑ. වසර කිහිපයක් ගතවෙනකොට තමන්ටම පේන්න පටන් ගන්නවා.

**ශ්‍රාවක:** තමන්ටම පේන්නෙ මොන අවස්ථාවෙදිද ?

**දේශක:** මේ ලෝකයේ කටයුතු කර කර ඉන්නකොට, තමන්ව යම් දේකට ඇලෙන්න හෝ ගැටෙන්න හෝ යන අවස්ථාවක් උදා වුනොත්, ඒ අවස්ථාවෙදි තමන් හැසිරෙන ආකාරය පරීක්ෂා කළාම තේරුම් යනවා, මීට කලින් මම මේ අවස්ථාවට පත් වුනා නම් ඒකට මුහුණ දෙන විදිහයි, දැන් ඒ සම්බන්ධව කටයුතු කරන විදිහයි අතර පැහැදිලි වෙනසක් තියෙන බව.

**ශ්‍රාවක:** ඇලීම් ගැටීමවල අඩුවක් විතරද දැකගන්න පුළුවන් වෙන්නෙ?

**දේශක:** ඇලීම් ගැටීම් අඩු වීම කියන එකත් පහසුවෙන් තේරුම් ගන්න පුළුවන් දෙයක් නෙවෙයි.

**ශ්‍රාවක:** ඇයි එහෙම කියන්නෙ? උදාහරණයක් විදිහට කේන්ති යෑම අඩු වීමක් වුනා කියල පහසුවෙන් දැනගන්න පුළුවන් නේද?

**දේශක:** පහසුවෙන් දැනගන්න පුළුවන් වෙලාවලුත් තියෙනවා. හැබැයි එහෙම බැරි වෙලාවලුත් තියෙනවා. ඒ කාරණය අපි මේ විදිහට තේරුම් ගන්න බලමු. දැන් ඔබ දන්නව නේද ලෝභයෙන් ද්වේශයෙන් මෝහයෙන් කටයුතු කළොත් පහත් තත්ත්වයකට, එහෙම නැත්නම් සතර අපාය පැත්තට යොමු වෙන බව?

**ශ්‍රාවක:** ඔව්, පළමුවෙන්ම සාකච්ඡා කළේ ඒ ගැන. ලෝභ ද්වේශ මෝහ අකුසල මූල විදිහටත්, අලෝභ අද්වේශ අමෝහ කුසල මූල විදිහටත් බුදු රජාණන් වහන්සේ පෙන්වල දීල තියෙනවා. ලෝභයෙන් ද්වේශයෙන් මෝහයෙන් කරන වැඩවලින්, ගෙනිහිල්ල තිබ්බ වගේ අපායට යන්න වෙනව කියලත් දේශනා කරල තියෙනවා.

**දේශක:** මේ ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ... ආදියෙන් තමන්ට ලැබෙන හරවත් යමක් නෑ කියන අවබෝධය ලැබුනට පස්සෙ, ඒ පුද්ගලය සතර අපායට යන මට්ටමින් ලෝභයක්වත් ද්වේශයක්වත් හදාගන්න යන්නෙ නෑ. නමුත් ඊට මෙහා මට්ටමකින් ලෝභ වෙලා යමකට ඇලෙන්නත් පුළුවන්, ද්වේශ වෙලා ගැටෙන්නත් පුළුවන්.

**ශ්‍රාවක:** සතර අපාගත වෙන මට්ටම මොකක්ද කියල තේරුම් ගන්නෙ කොහොමද?

**දේශක:** අන්න ඒක තමයි හරියටම තේරුම් ගන්න අමාරු කාරණය. අපිට ත්‍රිපිටකයෙන් උදාහරණයක් අරගෙන මේක තේරුම් බේරුම් කරගන්න පුළුවන්. ඒ තමයි <u>මහානාම සූත්‍රය</u> (සංයුක්ත නිකාය 5 - 2, 183 පිටුව) මහානාම කියන සාක්‍ය කුමාරයත් හොඳ ව්‍යාපාරිකයෙක්. හැබැයි ඔහු බුදු රජාණන් වහන්සේගෙන් බණ අහල සෝවාන් ඵලයට පත්වෙලා හිටියෙ. නමුත් දවසක් තමන්ගෙ අස්ව ගාලෙ හිටිය සේවකයෙක්ගෙ වැරැද්දක් දැකල ඔහුට හොඳටම කේන්ති ගියා. කොච්චර කේන්ති ගියාද කියනව නම් ඔහුට හිතුනා, දැන් මැරුනොත් නම් කෙලින්ම යන්නෙ අපායෙ කියල. ඊට පස්සෙ ඒ වෙලාවෙම බුදු රජාණන් වහන්සේගෙන් ගිහින් අහනවා, ඔබ වහන්සේ මම සෝවාන් වෙලා කියල කිව්වට මට හොඳටම කේන්ති යනව කියල. ඔය විදිහට ඔහු බුදු රජාණන් වහන්සේ මුණ ගැහෙන්න ගිහින් ඔය කතාවම කිව්වම, උන්වහන්සේ ඔහු අපාගත නොවන බවට සහතික වෙනවා.

**ශ්‍රාවක:** එහෙනම් ඉතිං අපිට ඔය කේන්ති යන ප්‍රමාණයයි, සතර අපාගත වන මට්ටමයි සංසන්දනය කරගන්න පුළුවන් වෙන්නෙ නෑ. වැටහිලා තියෙන අසාරත්වය නිසාම කේන්ති යන අවස්ථා අඩු බව නම් පැහැදිලිව පේනවා.

**දේශක :** තවදුරටත් මේ මාර්ගය අනුගමනය කරන කොට පැහැදිලිවම මේ වෙනස දකින්න පුළුවන් වේවි. ඉදිරි මුළු ජීවිත කාලයේදීම මේ සත්‍යය දැනගැනීමෙන් ඔබට ලබන්න පුළුවන් සහනය අත්විඳින්න පුළුවන් වෙනවා. දැකපු දහම සත්‍ය බව තහවුරු වෙනව මිසක් ඒක වෙනස් වෙන කිසිම අවස්ථාවක් යෙදෙන්නෙ නෑ. ඒ මේ ලෝකයේ යථා ස්වභාවය අනිච්ච දුක්ඛ අනත්ත නිසාම තමයි.

**ශ්‍රාවක:** මම බොරුවකට රැවටිලා හිටිය නම් තමයි, ඒ රැවටීම වෙනත් බොරුවකින් හරි ඇත්තකින් හරි වෙනස් කරන්න පුළුවන් වෙන්නෙ. නමුත් ඇත්ත කවදාවත් බොරුවලින් වහන්න බැනෙ. ඇත්ත කියන්නෙ බොරුව වගේ වෙනස් වෙන එකක් නෙවෙයි. ඒ නිසා දැකපු ඇත්ත අනුව කටයුතු කරනව හැර වෙන මොනව කරන්නද? මේ ලෝකෙ ඇලෙන්න ගැටෙන්න කිසිම හේතුවක් නෑ. පුළුවන් තරම් සිහියෙන් ඉඳල ඇලෙන අවස්ථා, ගැටෙන අවස්ථා හඳුනගෙන ඒවා අනිච්ච දුක්ඛ අනත්ත වශයෙන් මෙනෙහි කරල, ඒ තත්ත්වයෙන් මිදෙන්න උත්සාහ කරන එක තමයි කරන්න තියෙන්නෙ.

**දේශක:** සංයුක්ත නිකායේ දෙවන කාණ්ඩයේ 107 වන පිටුවේ එන <u>පංචභයවෙර සූත්‍රයෙන්</u> පෙන්වල දෙන්නෙ මේ විදිහට.

**යම් කෙනෙකු කැමති වන්නේ නම්, ක්‍ෂය වූ නිරය ඇත්තෙම් ක්ෂය වූ තිරිසන් යෝනි ඇත්තෙම් ක්ෂය වූ ප්‍රේත විෂය ඇත්තෙම් ක්ෂය වූ අපාය දුර්ගති විනිපාත ඇත්තෙම් සෝවාන් වූයෙමියි තෙමේම පවසන්නේය.**

**ශ්‍රාවක:** ඔය කෙලින්ම සෝවාන් වෙලා කියල කියනවනෙ! එහෙම කොහොමද කියන්න පුළුවන් වෙන්නෙ?

**දේශක:** එහෙම කියන්න නම් ඒ ආර්ය ශ්‍රාවකයන්ගෙත් පස් වැදෑරුම් බිය හා වෛර සංසිඳෙන්න ඕන. ඒ වගේම සෝතාපත්ති අංග හතරකින් යුක්ත වෙන්න ඕන. ආර්ය වූ න්‍යාය, නැත්නම් පටිච්ච සමුප්පාදය ප්‍රඥාවෙන් දැනගෙන ඉන්න ඕන.

**ශ්‍රාවක :** බය වෛර සංසිඳෙන්නෙ කොහොමද?

**දේශක:** ප්‍රාණඝාතය, අන් සතු දේ ගැනීම, කාමයේ වරදවා හැසිරීම, බොරු කීම, සුරාමේරය ආදී පස් පව් පිළි නොගෙන ඒවා කරන අය ඉන්න සමාජයක ජීවත් වෙන මිනිස්සුන්ට ඒ නිසාම බිය පහක් දැනෙනවා. ඒ වගේම ඒවා කරන අයගෙන් පීඩාවට පත් වෙච්ච අයත් වෛර පහක් හදාගන්නවා. නමුත් සෝතාපත්තියට පත් වෙච්ච ආර්ය ශ්‍රාවකයෙක් ඒවා කරන්න කැමැත්තක් නැති නිසා, ඒ පුද්ගලයගෙන්

සමාජයට ඔය වගේ බිය පහකුයි වෛර පහකුයි උදාවෙන්නෙ නෑ. ඒ නිසා පංච බය වෛර සංසිඳිල කියල කියනවා.

**ශ්‍රාවකඃ** ඒක නම් ඇත්ත තමයි. උදාහරණයක් විදිහට ඔය මත්කුඩුවලට ඇබ්බැහි වෙච්ච අය ඉන්න පළාත්වල මිනිස්සු නිතරම බියකින්නෙ ඉන්නෙ මොනව නැතිවෙයිද කියල. අඩුම තරමින් හෝදපු ඇඳුමක්වත් වේලෙන කල් එළියෙන් තියන්න බයයි.

**දේශකඃ** ඒ වගේම තමයි ඒ අයට නොතේරුනාට මේ සමාජයේ කවුරු කවුරුත් ඔය පෙන්වල දීපු බය පහෙන් තමයි නිතරම ඉන්නෙ. ඒ නිසාම ඒ අය ළඟ ඔය වෛර පහත් ඇතිවෙන්න පුළුවන්.

**ශ්‍රාවකඃ** අපොයි ඔය මත්කුඩුවලට ඇබ්බැහි වෙච්ච අයත් එක්ක නම් නිතරම තරහකින් තමයි හැමෝම ඉන්නෙ. අර සෝතාපත්ති අංග කිව්වෙ කල්‍යාණ මිත්‍ර සේවනය, ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම ප්‍රතිපදාව නේද?

**දේශකඃ** ඒව ඉතිං කෙනෙකුට සෝතාපන්න වෙන්න අවශ්‍ය දේවල්නෙ. මෙතනදි කියන්නෙ සෝතාපන්න වෙච්ච අයට තියෙන අංග හතර ගැන.

**ශ්‍රාවකඃ** මම දන්නෙ නැනෙ එහෙම අංග හතරක් ගැන. විශේෂයෙන්ම සෝතාපන්න වෙච්ච ආර්ය ශ්‍රාවකයෙක් ළඟ තියෙන අංග හතරක් වෙන්න ඕන ඔය විස්තර කරන්න හදන්නෙ.

**දේශකඃ** ඔව්. ඒ වගේ කෙනෙක් බුදු රජාණන් වහන්සේ කෙරෙහිත්, ශ්‍රී සද්ධර්මය කෙරෙහිත්, ඒ ධර්ම මාර්ගය අනුගමනය කරන මහා සංඝයා කෙරෙහිත් අවෙච්ච ප්‍රසාදයකින් තමයි ඉන්නෙ. මේ ත්‍රිවිධ රත්නය කෙරෙහි තියෙන ප්‍රසාදය ඔහුගේ ගුණාංග තුනක්. අනික් ගුණාංගය තමයි අරිය කාන්ත සීලයෙන් යුක්ත වීම.

**ශ්‍රාවකඃ** සෝතාපන්න වෙච්ච කෙනෙක් දැනගන්නව නේද, තමන්ට මේ ධර්මය හමුවුනේ නැත්තම්, තමන්ට මේ වෙනකොට මොන වගේ විනාසයක්ද වෙන්නෙ කියල? ඒ විතරක් නෙවෙයි, මේ සංසාරය නමැති උගුලෙන් ගැලවුනෙත් මේ ත්‍රිවිධ රත්නය නිසාම බව හොඳාකාරවම දන්න නිසා, ඒ සම්බන්ධයෙන් වචනවලින් කියන්න බැරි තරම් ප්‍රසාදයකින් තමයි ඉන්නෙ. ඒ නිසා නේද මේ අවෙච්ච ප්‍රසාදය කියන්නෙ?

**දේශකඃ** ඔබ ඔය හිතන විදිහ හරි. ත්‍රිපිටක පරිවර්තනයේ නම් අචල ප්‍රසාදය කියල තමයි කියල තියෙන්නෙ. තව ටිකක් ගැඹුරට කල්පනා කරල බැලුවොත් පේන්න තියෙන දෙයක් තියෙනවා. මේ ධර්මය ශ්‍රවණය කළාට පස්සෙ ඒ පුද්ගලයට මේ ලෝකෙට තිබ්බ්ච කැමැත්ත (ඉච්ඡාව) හොඳටම අඩු වෙලා යනවා. එහෙම අඩු වුනේ ඇත්ත දැක්ක නිසා. එහෙම අඩු වීම තමයි අවඉච්ච ප්‍රසාදය කියල කියන්නෙ.

**ශ්‍රාවකඃ** එහෙම තේරුමක් ගත්තොත් නම් සිද්ධ වෙලා තියෙන්නෙ මොකක්ද කියන එක හොඳින්ම වැටහෙනවා. තවත් අංගයක් තිබුන නේද ආර්ය කාන්ත සීලය කියල?

**දේශකඃ** ඒක තමයි සෝතාපන්න ආර්ය ශ්‍රාවකයෙකුට පිහිටන සීලය. කොහොමටත් සීලය කියල කියන්නෙ පිහිටන එකකටම තමයි. සමාදන් වෙන සිල්වලට කියන්නෙ වත් කියල.

**ශ්‍රාවකඃ** ඒ වුනාට අපි සිල් කියල කියන්නෙ සමාදන් වෙන ඒවටනෙ?

**දේශකඃ** සමාජයේ සම්මත වෙලා තියෙන්නෙ එහෙම තමයි. නමුත් ත්‍රිපිටකයේ පැහැදිලිව තියෙනවා, යං සමාදානං තං වතං සංවරට්ඨේන සීලං කියල. ඒකෙ තේරුම, යම් සමාදානයක් ඇත්ද ඒක වතක්, සංවර වීමක් ඇත්ද ඒක සීලයක්.

**ශ්‍රාවකඃ** ඒකත් අපි වැරදියට නේද වටහ ගෙන ඉන්නෙ?

**දේශකඃ** ඔව්, ඒ වුනාට සිල් වතක් හරි සමාදන් වෙලා අකුසලයෙන් මිදෙන්න වෑයම් කරන එක හොඳ දෙයක්. කවදහරි ඒ වතත් සීලයට උපනිශ්‍රය වෙනවා. සිල් ගන්න එක විතරක් නෙවෙයි, මේ බුද්ධ සාසනය වෙනුවෙන් මලක් පහනක් පූජ කරල හරි එක මොහොතකට හෝ අලෝභ අද්වේශ අමෝහ සිතක් ගොඩනගා ගන්න පුළුවන් නම්, ඒකත් කවදහරි දවසක නිවන් අවබෝධ වෙන්න උපනිශ්‍රය වෙනවා.

**ශ්‍රාවකඃ** ඔව් ඒක ඇත්ත. මමත් අහල තියෙනවා, **වැලි ගොඩක් ගහල ඒක බුදු රජාණන් වහන්සේගෙ ධාතූන් වහන්සේලා තැන්පත් කරපු චෛත්‍යයක් කියල හිතල ඒකට නමස්කාර කරපු කෙනෙකුට පසු කාලයකදි උතුම් වූ අරිහත් ඵලය දක්වා ගමන් කරන්න ඒක හේතු වුනා** කියල. කොහොමද මේ දහම වටහ ගන්න කෙනෙකුට සීලයක් පිහිටන්නෙ?

**දේශකඃ** මේ දහම අවබෝධ වෙනව කියන්නෙ මේ ලෝකයේ අසාරත්වය වටහ ගන්නවා කියන එක. ඒ කියන්නෙ මේ ලෝකයේ ඇසුරු කරන්න තියෙන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ... ආදිය ගැන මෙතෙක් කල් තිබුන වටිනාකම අඩු වෙනවා. එහෙම නැත්නම් ඒවායින් නැවත නැවත සැප බලාපොරොත්තු වීම ටිකෙන් ටික අඩු වෙලා යන නිසා, ඒවා භුක්ති විඳීම වෙනුවෙන් අවශ්‍ය නම් දස අකුසලයම වුනත් කරන්න හිතෙන මානසිකත්වය සම්පූර්ණයෙන්ම වෙනස් වෙලා යනවා. ඒ කියන්නෙ මේ ලෝකයේ විඳින්න තියෙන මුළා සහගත සැප ලබා ගන්න, කිසිම අවස්ථාවක සතර අපාගත වන තරම් ප්‍රභලව දස අකුසල් චේතනාවක් පහල වෙන්නෙ නෑ. මේ ආකාරයට සෝවාන් ඵලයට පත්වෙච්ච කෙනෙකුට පිහිටන පංච සීලය පහාන සීල, වේරමනී සීල, චේතනා සීල, සංවර සීල, අවිතික්කම සීල කියල විස්තර කරල තියෙනවා. ඒක තියෙන්නෙ පටිසම්භිදා මග්ගප්‍රකරණය (1) නමැති ත්‍රිපිටක ග්‍රන්ථයේ 87 පිටුවේ එන සීලමය ඤාණය යටතේ.

**ශ්‍රාවකඃ** මේ සිල් 5, ධර්මය අවබෝධ කරගත්ත අයට පිහිටන ආකාරය විස්තර කරල දෙන්න.

**දේශකඃ** දහම් අවබෝධ කරගත්ත අය සතර අපාගත වෙන්නෙ නැති බව දන් ඔබත් හොඳින් දන්නවනෙ. ඒ අනුව සතර අපාගත වෙන්න තරම් ප්‍රභල ආකාරයෙන් දස අකුසලයම සිද්ධ කිරීම පහ වෙලා තියෙන්නෙ. ඒ වගේ පාප කර්මයක් සිද්ධ වෙන්නෙ නෑ. ඒකට තමයි පහාන සීලය කියන්නෙ. ඒ වගේ දේවල්වලින් රමණයෙන් වෙන් වෙනව කියන එක තමයි වේරමණී සීල කියන්නෙ. ඒ කියන්නෙ ඒවා ඇසුරු කිරීමෙන් වළකිනව කියන එක. සතර අපාගත වෙන මට්ටමේ ප්‍රභල අකුසල චේතනාවක් පහල වෙන්නෙ නෑ කියන එකට තමයි චේතනා සීල කියන්නෙ. සංවර සීල කියන්නෙ, දස අකුසලයම සතර අපාගත

# වස විස භාවිතාවේ අඳුරු පැතිකඩ 8



වස විස සම්බන්ධයෙන් කතා කරනකොට, වහරක අභයරතනාලංකාර හාමුදුරුවො තරම් අත්දැකීම් සහිතව ධර්මානුකූලව විද්‍යානුකූලව, ඒ වගේම සාමාන්‍ය ජනතාවට තේරුම් ගන්න පුළුවන් සරල විදිහට ඒ කරුණු හෙළිදරව් කරපු කෙනෙක් මෑත කාලයේ අපිට අහන්න ලැබුනෙ නෑ කිව්වොත්, හුගක් අය ඒ කතාව පිළිගන්න එකක් නෑ. නමුත් ඒක අතිශයෝක්තියක් නෙවෙයි. මොකද උන්වහන්සේ හෙළිදරව් කරපු ඒ සැගවිච්ච කරුණු කාරණා බොහොමයක් දෙනා අතරට ගියේ නෑ. එහෙම යන්න තරම් ජනමාධ්‍යවලින් ඉඩක් ලැබුනෙත් නෑ, ඒ ගැන දැනුවත් වෙලා හිටියෙත් නෑ. ඒ නිසා උන්වහන්සේගෙන් බණ අහන්න ආපු සුළු පිරිසක් විතරයි ඒ ගැන හරියට දැනගෙන හිටියෙ.

මොකද උන්වහන්සේ නිවන් දකින බණ කියනකොට දක්ක තවත් දෙයක් තමයි, නිවන් දකින්නත් මේ කය නිරෝගීව පවත්වගෙන ඉන්න ඕන කියන කාරණය. නැත්නම් බණක් භාවනාවක්වත් කරගන්න තරම් හිතට ගතට හයියක් ලැබෙන්නෙ නෑ. ඒ නිසා මේ වස විස භාවිතාවේ දරුණු ඵල විපාක ගැනත්, ඒවායින් වළකින හැටිත් උන්වහන්සේ බණ කියන අතරෙම වරින්වර තමන්ගෙ අත්දැකීම් සහිතවත්, ධර්ම සමාධියෙනුත් කරුණු කාරණා හෙළිදරව් කළා. නිවන් දකිනකල්වත් මේ කය පවත්ව ගන්න ඕන නිසා තමයි ඒවගේ කරුණුත් හෙළි කළේ. ඉතිං උන්වහන්සේගෙන් ලබපු ආභාෂය සහ දැනුවත් භාවය නිසා තමයි අපිත් බොහෝකොටම මේ සම්බන්ධයෙන් තවත් කරුණු හොයන්න උනන්දු වුනේ. උන්වහන්සේ මතු කරපු ඒ විශේෂ කරුණු සමගින් ඒ ඔස්සේ කෙරෙන තවත් පැහැදිලි කිරීමක් තමයි මේ.

අද වෙනකොට අපේ රටේ වකුගඩු රෝග, දියවැඩියාව, කොලෙස්ටරෝල්, රුධිර පීඩනය... ආදී රෝග තත්ත්වයන් බහුලයි. විශේෂයෙන් වකුගඩු නරක් වීම සහ දියවැඩියාව කියන තත්ත්වයන් මහා වසංගතයක් බවට පත් වෙලා තියෙනවා. හැබැයි මීට ☞

---

නොවන මට්ටමට සිද්ධ නොවෙන්න ඉන්ද්‍රියන් සංවර කරගත්තා කියන එක. මේ විදිහට පෙන්වා දුන්න පහාන සීල, වේරමණී සීල, චේතනා සීල, සංවර සීල කියන හතරම මොනම අවස්ථාවකදිවත් ඉක්මවා නොයන්න කටයුතු කරන එකට තමයි අවීතික්කම සීල කියන්නෙ.

**ශ්‍රාවක:** මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරල දහම් අවබෝධ කරගත්ත අයට, තමන් මේ ආකාරයටද කටයුතු කරන්නෙ කියල හොඳ පරීක්ෂාවෙන් හිටියොත් තමන්ටම බලාගන්න පුළුවන් වෙනව නේද?

**දේශක:** ඔව්. මේ සමාජයේ කටයුතු කරන කොට තමන් දැඩි ලෙස ඇලෙන ගැටෙන අවස්ථාවලදි හැසිරුන ආකාරය පිළිබඳව විමසිල්ලෙන් බැලුවොත්, මේ අංග පහ තියෙනවද නැත්ද කියල තමන්ටම බලාගන්න පුළුවන්. එහෙම කළාම ප්‍රත්‍යවේක්ෂා ඥාන තියේ නම් තමන්ටම වැටහෙනවා, මේ ආර්ය කාන්ත සීලය තමන්ට පිහිටල තියෙන්නෙ කියල. එහෙම කෙනෙක් සුදුසු අවස්ථාවකදි තමන් සෝවාන් ඵලය ලබල තියෙන බව කැමති නම් ප්‍රකාශ කරන්න පුළුවන්.

**ශ්‍රාවක:** මට නම් ඉතිං ඕක කියන්න උවමනාවක් නෑ. මටම තේරුනොත් මම සතර අපායෙ යන්නෙ නෑ කියල මට ඒ හොඳටම ඇති.

**දේශක:** ඔව්, පුළුවන් තරම් මේ වටහාගත් ධර්මය අනුව තමන්ගෙ එදිනෙදා ජීවිතය හැඩගස්සවා ගන්න උත්සාහ කරන්න ඕන, නිතරම හොඳ සිහියෙන් කල්පනාවෙන් යුක්තව කටයුතු කරන්න පුරුදු වෙන්න ඕන. ඒ වගේම තමන් දැනගත්ත මේ ලෝකයේ තියෙන වටිනාම දහම අනිත් අයටත් බෙදා දෙන්න උපරිම වශයෙන් උත්සාහ කරන්න. හැබැයි බලෙන් දෙන්න යන්න එපා.

**ශ්‍රාවක:** මම පුළුවන් හැම වෙලාවෙම උත්සාහ කරන්නෙ, මේ දැකගත් ධර්මය අනුව ලෝකයේ සියල්ලම අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මෙනෙහි කරල ඇලීමයි ගැටීමයි සංසිඳව ගන්න. නමුත් තාමත් ඉතිං ඇලෙන ගැටෙන අවස්ථා නැතිව නෙවෙයි. අර මහානාම සිටුවරයගෙ කතාව ඇහුවට පස්සෙ මට දැන් තේරෙනවා, එකපාරටම සියලුම ඇලීම් ගැටීම්වලින් නිදහස් වෙන්න බැරි බව. ඒ වුනත් මට විශ්වාසයක් තියෙනවා, මේ මාර්ගය දිගටම අනුගමනය කළොත් මට මේ ඇලීමෙනුයි ගැටීමෙනුයි නිදහස් වෙන්න පුළුවන් කියල. මේ වගේ ධර්ම සාකච්ඡාවක් අපේ ගමෙත් සංවිධානය කරන්න තමයි මම මේ උත්සාහ කරන්නෙ.

**සටහන**

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**

පරම්පරා කිහිපයකට පෙර අපේ ආතල මුත්තලට මේ වගේ රෝග තිබුනෙ නෑ. ඉතිං අද මේකට හේතුව විදිහට නවීන වෛද්‍ය විද්‍යාවෙ කියන්නෙ සීනි, තෙල්, පිටි දාපු කෑම කියල. ඒ නිසා ඒවායින් හදපු කෑම කන්න එපා කියනවා. නමුත් එදා අපේ මුතුන් මිත්තො කෑවෙම ඔය තුනෙන් හදපු පැණි කැවුම්. හැබැයි පිටි කියල ගත්තෙ අද වගේ පාන් පිටි නම් නෙවෙයි, වස විස නොගහ හදපු අපේ පැරණි හාල් පිටි. පොල්තෙල් වුනත් පිරිසිදු පොල්තෙල්. අද වගේ දහ ජරාව එකතු කරපු තෙල් එදා තිබුනෙ නෑ. සීනි කියල ගත්තෙත් මේ දැන් වගේ අළුහුණු, ගෙන්දගම්... ආදී විරංජන කාරක එකතු කරල සුද්ධ කරපුව නෙවෙයි. කිතුල් පැණි, එහෙම නැත්නම් ස්වභාවික දුඹුරු සීනි තමයි ගත්තෙ.

ඉතිං ඒවායින් හදපු පැණි කැවුම් කිව්වම අපේ රට ඒකටම ප්‍රසිද්ධයි. "සිංහලයා මෝඩයා කැවුම් කන්න යෝධයා" කියල කැවුම් මුල් කරගෙන තමයි විදෙස් ආක්‍රමණිකයන් අපිට උපහාසයට කතා කළෙත්. හාල් පිටිවලින් හදල පැණි පුරවල තෙල්වලින් කර කරල තමයි ගත්තෙ. එදා ඒ වගේ පැණි කැවුම් වයස් භේදයකින් තොරව කොච්චර නම් කෑවද? නමුත් ඒ නිසා ලෙඩ වෙච්ච කෙනෙක් ගැන අහන්න ලැබුනද? අද නම් ඔය කියන රෝග තියෙන අයට සීනි, පිටි, තෙල්වලින් හදපු කැවුම් ගෙඩි 4 - 5 ක් කෑවොත් පහුවදා මිනී පෙට්ටියේ තමයි සැතපෙන්න වෙන්නෙ.

එතකොට මේ හැම එකකටම හේතුව සීනි, පිටි, තෙල් කියනව මිසක් අද මේ වගේ තත්ත්වයක් එන්න නියම හේතුව විග්‍රහ කරන්නෙ නෑ. ශරීරයේ සීනි වැඩි වුනාම ඒකට දෙන උත්තරය තමයි සීනි, පිටි, තෙල් කෑම කන්න එපා කියල. කෑවොත් කොලෙස්ටරෝල්, සීනි වැඩි වෙනවලු. ඒ රෝග හැදුනට පස්සෙ කෑවොත් වැඩි වෙනව තමයි. හැබැයි ඒ වැඩි වෙන්න මූලික වෙච්ච හේතුව හංගනවා. නමුත් මේකට හේතුව හොඳට හොයල බලනකොට, හොඳින් සමාධි වඩල තියෙන අය සමාධියට යොමු කරල බලන කොට එන උත්තරය තමයි, මේව අද කියන ජාතියේ ලෙඩ රෝග නෙවෙයි කියන එක. දැන් තියෙන වකුගඩු රෝගය ගත්තත් ඇත්තටම ඒක රෝගයක් නෙවෙයි. නමුත් අන්තිමට වකුගඩු දියවෙලා මැරෙනවා. නමුත් රෝග කියන කොටසට ගන්න බෑ. රෝගයක් වශයෙන් පෙනුනට ඒක මනුස්සයා විසින්ම කරගත්ත ප්‍රයෝග විපත්තියක්. ඒ නිසා තමයි අපේ පැරැන්නන්ට ඕව තිබුනෙ නැත්තෙ. ඒ **කාලෙ තිබුනෙ ප්‍රයෝග සම්පත්තිය. ඒකෙන් නිරෝගී වුනා. අද ප්‍රයෝග විපත්තිය නිසා රෝගීන් බවට පත් වෙලා. ඒ කියන්නෙ මූලිකවම රෝග කියල හඳුන්වන රෝග නෙවෙයි අද තියෙන්නෙ. වස විස කැවිලම හැදිච්ච රෝග. මොකද අද කන්න බොන්න වෙලා තියෙන්නෙ සම්පූර්ණයෙන්ම වස විස. මැරෙන නොමැරෙන ගානට නවත්තපු වහ තමයි දැන් මේ කන්නෙ බොන්නෙ. තියෙන තරමක් තියෙන්නෙ වහ.**

දැන් බලන්න හාල් ගෝනියක්, මුං ඇට ගෝනියක් විවෘත කරල අවුරුද්දක් තිව්වත් ගුල්ලො ගහනවද කියල. නමුත් ඉස්සර හාල් ගෝනියක් කඩල පැය 24 ක් යනකොට වටේටම ගුල්ලො. මොකද අපට වඩා ගුල්ලො දන්නවා වස විස තියෙන තැන්, නැති තැන්. අපිට පේන්නෙ නෑ. අපිට ඒ ඉව නෑ. උන්ට කර්ම ශක්තියෙන්ම ඒ ඉව පිහිටනවා. ඒ නිසා ගුල්ලො ඉන්නව නම් ඒක ආහාරයට ගත්තට ප්‍රශ්නයක් නෑ. මොකද වස නෑ. නමුත් දැන් ඉතිං ගොයම් පැළේ ඉඳන් හාල් ටික හදන්න දාන්නෙත් වස, හදල රැක ගන්න දාන්නෙත් වස, අන්තිමට කන්න හදනකොට දාන්නෙත් වස. ඇයි කොච්චර නම් කල් තබා ගැනීමේ කාරක, රසකාරක එකතු කරනවද? කොටින්ම කිව්වොත් **ගහ හැදිල අවසන් වෙලා ආහාරයට ගන්න කල්ම දාන්නෙ වස. වසෙන්ම හැදිල වසෙන්ම ගොඩනැගිල වසෙන්ම කල් තියාගත්තු දේවල් තමයි අද අපිට කන්න වෙලා තියෙන්නෙ.**

ඉතිං වහ කාල හැදෙන රෝග කියන ඒවට බේත් ප්‍රතිකාර කොයින්ද? වහ කන එක නවත්තල දැම්ම නම් රෝගය ඉවරයි. නමුත් දැන් කොහේ නවත්තන්නද? ප්‍රයෝග විපත්තියක් හදල මුළු රටම ගිලගෙන ඉවරයි. නමුත් අපේ රටේ එහෙම වුනාට ලෝකෙ අනිත් රටවල්වල අය බේරිලා ඉන්නවා. මොකද ඒ අයට යම් කිසි ප්‍රමිතියක් තියෙනවා. මෙහෙම ගිහින් අන්තිමට කවදහරි වෙන්නෙ එළවළු බතුයි කන බෞද්ධයො ටික රෝගවලින්ම මැරිල මස් විතරක් කාල ජීවත් වෙන අය බේරෙන එක. කැලේ ඉන්න සතෙක් මරාගෙන කාල බඩ පුරවගන්න අය ඒකෙන් මැරිල ගිහින් අපාගත වෙන එක වෙනම කතාවක්. ඒ වගේ මරා සකස් කරගත්ත සතුන්ගෙ මස් මාංශ අනුභව කිරීමත් අසාධාරණයක්. නමුත් ඒ අය මෙලොව වශයෙන් ජීවත් වෙන ටික කාලයට අර වගේ වහ කන්නෙ නෑ. ලෙඩ රෝගවලින් දුක් විඳල මැරෙන්නෙ නෑ. ඒ අය බොහෝකොටම කායිකව නිරෝගියි. මොකද කැලේ ඉන්න හරක්, එළුවො වගේ සත්තු කන්නෙ වස ගහන්නෙ නැති වල් තණකොළ ජාති. උන් මරාගෙන මස් ටික කන අයටත් ඒක වහ වෙන්නෙ නෑ. ඒක ප්‍රධාන ආහාරය කරගත්ත රටක ජීවත් වෙන අයට වස විස නිසා එන ඔය වගේ රෝග නෑ. නමුත් **මේ බෞද්ධයො කියන අය ධර්මානුකූලව පිරිසිදු ජීවිතයක් ගත කරන්න හදනකොට ආහාරවලට වස විස ගහල ඒක විනාස කරල දානවා.**

ඉතිං බැලුවම අපි කන තරමක් කාල තියෙන්නෙ වස. අන්තිමට ජීවිතයම දුක් විඳල වකුගඩු රෝගය හරි දියවැඩියාව හරි පිළිකාවක් හරි හැදිල මැරිල යනවා. මොකද මේ **දැන් තියෙන ධාන්‍ය, එළවළු, පළතුරුවලින් 90% ක්ම තියෙන්නෙ වස. නමුත් ඒ කාරණය හංගනවා. හාල්වල ආසනික් තියෙනව කිව්වොත් ඒ කාරණය හංගනවා. එහෙම දෙයක් නෑ කියන්න තමයි උත්සාහ කරන්නෙ. පොළොවට ගහල තියෙන වස කොච්චරද කියනව නම්, තුවාලයක් තියාගෙන මඩට බැස්සොත් විස වැදිල උණ හැදිල මැරෙනවා. අන්තිමට ඒක මී මුත්‍රවලින් හැදෙනව කියල මී උණ කියල නමකුත් දානවා. නමුත් ඉස්සර එහෙම වුනේ නෑ.**

ඉතිං මේ වගේ රෝගවලට බේත් කොයින්ද? ඇත්තටම රෝගයකට තමයි බෙහෙත් දෙන්න ඕන. එතකොට මේ වගේ දේවල්වලට කර්මය මුල් වුනත් ප්‍රධාන වෙන්නෙ කර්මය නෙවෙයි, ප්‍රයෝග විපත්තිය. ප්‍රයෝග විපත්තියට සමනන්තර - අනන්තර ප්‍රත්‍ය අනුව කර්මය ඇදල එන එකයි වෙන්නෙ. මොකද අපරාපරීය කර්ම නොකරපු කෙනෙක් නෑ. ලෝකයේ ඉන්න සියළුම සත්තු අපරාපරීය කර්ම කරල ඉන්නෙ. ඒ කියන්නෙ අනන්ත සසරෙ කවදා හෝ අවස්ථාවක් මතු වුනාම ඇදල එන කර්ම. ඒ නිසා ඒකට අවස්ථාව හෙවත් ප්‍රයෝග විපත්තියක් නොහදන්න තමන් වගබලා ගන්න ඕන.

ඒ නිසා මේකට කරන්න තියෙන එකම දේ තමයි වස විස නොකා නොබී ඉන්න එක. ඉතිං වස විස නැති ආහාරයක් කොහෙන් හොයන්නද? ගස්වල පොළොස් ගැටයක් හරි තියෙන කල් ඒකෙ වහ නෑ. නමුත් ඒක උයල කන්න හදා ගන්න දාන මිරිස් කරලෙ තනිකර වස,



වස විස භාවිතාවේ අනිටු ප්‍රතිඵල

ඇණු ගෙඩියෙත් වස. වස නැති ආහාරයක් හොයා ගත්තට ඒක උයන්න ගන්න අනිත් කොටස් වස ගොඩක්. ඉතිං ලෙඩ නොවී තියෙයිද? නමුත් ඉස්සර නම් ඕව කෑව කියල ඉහිත් බහින රෝගයක් තිබුනෙ නෑ. මොකද වස විස දම්මෙ නෑ. අන්තිමට අපේ තිබ්බ්ච ගම්මිරිස් ඇටෙත් අහක් කරල වගා පිටින්ම වහ ගහල හදන මිරිස් කරල ආවම ඒක කන්න ගත්තා. ඊළඟට කුරුඳු, එනසාල්, රම්පෙ, කරපිංච වෙනුවට කෘතිම රසකාරක දාන්න පටන් ගත්තා. ගොරක, ලුණු, දෙහි වෙනුවට කෘතිම කල් තබා ගැනීමේ කාරක දාන්න ගත්තා.

ඉස්සර මිනිස්සු දැන් වගේ කෘතිමව වස විස ගහල ගොවිතැන් කළෙත් නෑ. අද නම් කිසිම ප්‍රමිතියක් හොයන්නෙ නෑ. හැබැයි අපේ රටේ එහෙම වුනාට අනෙක් රටවල එහෙම නෑ. ඒ රටවල ප්‍රමිතියක් තියෙනවා. වෙළඳපොළට එන ආහාර නිතර පරීක්ෂා කරල බලනවා. ගොවිතැන් පවා එහෙමයි. නමුත් අපේ රටේ එහෙම නෑ. **ඕන දහ ජරාවක් පිට පොත්ත හොඳට පෙනුමට තියේ නම් ඒක විකුණ ගන්න පුළුවන්. වැඩිපුර වෙළඳ දැන්වීම් යනව නම්, පිට ඔපය තියෙනව නම් මිනිස්සුත් ඒවම අරගෙන ගිලිනවා. ඒක හැදිල තියෙන්නෙ කොහොමද කියල බලන්නෙ නෑ.** එළවළුවක් ගන්න ගියාමත් හොඳට ලස්සනට පිට පෙනුමට තියෙන ඒවා තමයි ගන්නෙ. පණුවො ගහල කේඩෑරි වෙච්ච ඒව දැක්කොත් පැත්තවත් බලන්නෙ නෑ. පණුවෙක් කොළයක් කාල තිබුණත් ඒක ගන්නෙ නෑ. හැබැයි ඒකෙ තමයි පොඩ්ඩක් හරි වස විස අඩුවෙන් තියෙන්නෙ.

තමන්ගෙ ගෙදර වෙනම හදන්නෙ නැතිව කුඹුරු ආශ්‍රිතව හැදෙන කොහිල අලෙත්, නෙළුම් අලෙත් අද වෙනකොට විස වෙලා. මොකද කුඹුරුවල මඩ එක්ක මිශ්‍ර වෙලා තියෙන කෘමි නාශක, වල් නාශක වගේ වස විස කොහිල, නෙළුම් අලවලට පහසුවෙන් උරා ගන්නවා. ආසනික් වගේ විස විශේෂයෙන් උරා ගන්නවා. ඒ නිසා **පුද්ගලිකව කොටුවල හදාගන්න ඒව හැර කොහිල, නෙළුම් අල වුනත් අද විස සහිතයි.** ඊළඟට දැන් තියෙන මිරිස් කුඩු වුනත් නැටියි, කොළයි ඔක්කොම දාල කොටල තමයි කඩේ විකුණන්න තියෙන්නෙ. මිරිස් වගාවටත් වස විස ගහලමයි හදන්නෙ. ඒ නිසා තමන් ගෙදර හදාගන්න එක තමයි හොඳ. වේළිච්ච මිරිස් වුනත් වෙළඳපොළෙන් ගෙනත් ඉස්සෙල්ලම හොඳට හෝදල වේළල ගන්න ඕන. වතුර දම්මම කළු වෙලා දූවිලි සහිත තෙල් තට්ටුව ඉවත් වුනාට පස්සෙ සැරයක් දෙකක් අව්වෙ තියල වේළල ගත්තම ඒ විස තරමක් හරි ඉවත් වෙනවා. 100% ක් වස විස නොගහපු ඒවා හොයාගන්න බැරි නම්, ඒ විදිහට අවම කරගන්න හරි උත්සාහ කරන්න ඕන. එහෙම නැත්නම්, මේ වෙනකොට වස විස නොගහ කාබනික ක්‍රමයට වගා කරන ස්ථානත් කලාතුරකින් තියෙනවා. ඒ වගේ විස්වාසවන්ත තැනකින් හොයල බලල ගන්න පුළුවන්.

**දැන් ඉතිං මේ වගේ වස විස කැවිල, ඒව ගිහින් ශරීරයේ ඉන්ද්‍රියන්වල බැඳිල පැලපදියම් වුනාම ඒකට බේත් හේත් දැන් තියෙන වෛද්‍ය විද්‍යාවෙ නෑ.** ඒ තියෙන වස විස ඉවත් කරන්න ක්‍රමයක් තමයි හොයාගන්න ඕන. හැබැයි එහෙම බේත් ස්වභාවයේමත් තියෙනවා. ඔය පැරකොටි කියන විස රසායනය පොළොවට ගැහුවම අනික් සියලුම ශාක මැරිල එක පැළෑටියක් විතරක් ඉතිරි වෙනවා. ඒ තමයි ගොටුකොළ. ඒක වඳ වෙන්නෙ නෑ. ඒ තරම් වස විසට ඔරොත්තු දෙනවා. ස්වභාවයෙන්ම විස මරන ශක්තිය තියෙන පැළෑටියක් තමයි ඒ. විස නැතිව හදාගන්න කැලේ තියෙන කොළයක් තියෙන්නෙ ඔච්චරයි. දැන් මේ බේත් ගොටුකොළවලින් හදන ඒ වගේ බේතක් හෙළ බොදු පියුම 20, 22 කලාපවල පළ කරල තියෙන නිසා නැවතත් සඳහන් කරන්න අවශ්‍ය නෑ. ඒ බේත හැමෝටම හොඳයි. මොකද දැන් මේ ජීවත් වෙන හැම මනුස්සයෙක්ගෙම ශරීරයේ වස විස කැවිල තියන්නෙ. ඉතිං මේ බේත පාවිච්චි කරන ගමන් පුළුවන් තරම් වස විස නැති ආහාරපාන ගන්න උත්සාහ කරන්න. **විශේෂයෙන් එළවළු, පළතුරු, සහල්, ධාන්‍ය ගන්නකොට වස විස නැති ඒව කීයක් හරි වැඩිපුර දීල ගත්තත් කමක් නෑ.**

මොකද මේ කාරණය තේරුම් ගත්ත මොළයක් බුද්ධියක් තියෙන සුළු පිරිසක් හරි වස විස ගහන්නෙ නැතිව, අපේ පැරණි හෙළ ගොවිතැනට අනුව වගා කරල නිපදවන ඒ වගේ ආහාර දැන් සුළු වශයෙන් හරි තියෙනවා. ඒව ගන්න ගමන් අර වගේ **වස විස ගහපු ආහාර ප්‍රසිද්ධියේ වර්ජනය කරන්න ඕන. මොකද එතකොට ඒව විකුණ ගන්න බැරිව කුණු වෙලා යනකොට ඒ අයට ඒක නතර කරන්න වෙනවා. ඒකට ඉතිං හැමෝම යම් කැප කිරීමක් කරන්න අවශ්‍යයි.** මේ ව්‍යසනයෙන් ගොඩ එන්න හැමෝගෙම උත්සාහයක්, උනන්දුවක් තියෙන්න ඕන. **රසයට විතරක් ගිජු වෙන්නෙ නැතිව ටිකක් ඉවසල ගමේ ගොඩේ වැවෙන පළා දල්ලක්, පොළොස් ගැටයක් කන්න පුරුදු වෙන්න ඕන. අතපය ටිකක් හොල්ලල ගෙවත්තෙ කන්න ගන්න පුළුවන් පැළයක් දෙකක් හිටව ගන්න ඕන.**

දැන් මෙතනදි පැහැදිලි වෙන තවත් කාරණයක් තියෙනවා. විශේෂයෙන් නුවරඑළිය, බණ්ඩාරවෙල, බදුල්ල වගේ පළාත්වල වගා කරන සමහර ගොවි මහත්වරු ඒ අයට කන්න විතරක් වස විස නොගහ වෙනම එළවළු කොරටුවක් ගෙවත්ත පිටිපස්සෙ හදා ගන්නවා. ඊළඟට විකුණන්න විතරක් වස විස ගහල වෙනම වගාවක් කරනවා. එතකොට ඒ අය ජීවත් වෙන්න ඕන කියල විතරයි හිතන්නෙ. බලන්න කොච්චර නම් ආත්මාර්ථකාමීද අසාධාරණද කියල. එතකොට වහ ගහල විකුණන ඒවා කාට කන්නද? අනුන්ට හෙණ ගැහිල ගියත් කමක් නෑ, තමන්ට කීයක් හරි හොයා ගන්න තමයි බලන්නෙ. මේ පිළිබඳවත් විශේෂ විග්‍රහයක් 14 වන කලාපයෙන් ඉදිරිපත් කරල තියෙනවා.

එතකොට මේ සිංහල ජාතිය වඳ වෙන්න යනව කියල සංවිධාන හදාගෙන කෑ ගහන උදවිය මේ වස විස ගැන කතා කරන්නෙ නෑ. වර්ගයා බෝ කිරීම ගැන විතරයි ඒ අය කතා කරන්නෙ. ඒ අයගෙ සංවිධාන හොඳයි කියනව

නෙවෙයි. නමුත් වඳ වෙන්නෙ නැතිව බේරෙන්න නම් ඉස්සෙල්ලම බේරගන්න ඕන මේ වස විස පරිභෝජනයෙන්. නැත්නම් බේරෙන්න ඉස්සෙල්ල මැරිල ඉවරයි. මොකද අවුරුදු 25 ක් විතර යනකොට තරුණ වයසෙදිම දියවැඩියාව, කොලෙස්ටරෝල්, වකුගඩු රෝග හැදිල ඉවරයි. ඉපදෙන පොඩි එකාටත් ඒ වගේ රෝග. මොකද මේ කන බොන වස විස නිසා. ඉතිං බෞද්ධකම රැකගෙන නිවන් දකින්නවත් පිරිසක් ඉතිරි වෙන්නෙ නෑ.

දැන් ඉතිං සල්ලි දීල ආහාර ගන්න අය අමාරුවෙ වැටෙනවා. ඒ නිසා **දැන් ඉන්න පිරිස අතරෙ බුද්ධිමත්ව හිතල බලන්න පුළුවන් අය තේරුම් ගන්න ඕන, මේ දැන් තියෙන රෝගවලට මුල වස විස කියල.** ඉතිං සටන් පාඨවලට විතරක්, වස විසට එරෙහි වෙමු කියන්නෙ නැතිව ප්‍රායෝගිකව මේක නවත්වන්න කටයුතු කරන්න ඕන. වස විස ගහන්නෙ නැතිව මේව හදන්න බැරිකමක් නෑ. අපේ පැරණි ක්‍රම ඕන තරම් තියෙනවා. අධ්‍යාත්මික පැත්තෙන් යොදවන්න පුළුවන් ගුප්ත ශක්තීන් තියෙනවා. ඒවට යොමු වෙන්න කාලය තමයි දැන් ඇවිත් තියෙන්නෙ.

ඊළඟට පිනට වශී කියල ගුරුකම් කරල වශී කරල දෙන කොටසකුත් ඉන්නවා. පන්නන්න ගෙන්නන්න ඔක්කොටම පාවිච්චි කරන්නෙ ඒක. අපේ රටේ මිනිස්සුන්ට ලෙඩ රෝග හැදෙන්න ඒකත් එක හේතුවක්. නමුත් ඒ කාරණයත් අද වෙනකොට සැඟවිලා. මේ පිළිබඳව පූර්ණ විස්තරයක් 18 වන කලාපයෙන් ඉදිරිපත් කරල තියෙනවා. ඉතිං ඒ වගේ දේවල්වලට අමනුස්ස බැල්ම හරියට වැටෙනවා. ඒකට පොඩි දෙයකුත් ඇති. ඒකෙන් ශරීරයට විස බැඳෙන්න පටන් ගන්නවා. ඒ වගේ අවස්ථාවල බැඳෙන ඒ විස අරින්න ලේසි නෑ. ඒ නිසා ඒ වගේ දේවල්වලට ඔය කට්ටඩියො පස්සෙ යන එකත් නවත්වන්න ඕන.

ඒ වගේම කිවුල් වතුර පානයත් මේ වස විස ශරීරගත වෙන්න එක හේතුවක් වෙලා තියෙනවා. ඒකත් එක්ක ශරීරගත වෙච්ච විස බැඳෙන්න පොඩි මොහොතකුත් ඇති. ඒ නිසා කිවුල් ජලය පිරිපහදුවට ලක් කරල ඒ කිවුල් ගතිය නැති කරල තමයි බොන්න ගන්න ඕන.

දැන් ඉතිං මේ වගේ ලෙඩ රෝග හැදුනම කෝකටත් තෛලය වගේ හුඟක් අය දුවගෙන යන්නෙත් බටහිර වෙදකම පස්සෙ. අන්තිමට සැත්කමක් කරල ශරීරයේ කෑල්ලකුත් කපල දාල කියනවා, බේත්වලට මාසෙකට මෙච්චර මුදලක් යයි කියල. ඒක කියන්නෙත් කෑල්ලක් කපල අයින් කළාට පස්සෙ. ඉතිං අන්තිමට මනුස්සයා ඒකට මුදල් හොයාගන්න ගේ දොර පවා උකස් කරල තවත් ප්‍රශ්න වැලක පැටලෙනවා. අවසානයේ උත්තර නැති ප්‍රශ්න වැලයි. ඊට පස්සෙ ඒක දරාගන්න බැරිව වහ බොනවා. ඉතිං මේ ජාතියේ අසාධාරණ වැඩ කරන වෛද්‍යවරුත් අද ඉන්නවා. ඒ වගේ දේවල් කරල ඒ මිනිස්සු අන්තිමට මැරෙන්නෙත් විඳවල.

ඒ නිසා පුළුවන් තරම් ධර්මයෙන් පිටස්තර වැඩවලින් වළකින්න ඕන. ඒ වගේ දේවල් විඳවන්න ගියාම තමන්ටත් ලේසි වෙන්නෙ නෑ. ඒකෙන් තවත් ප්‍රශ්න උග්‍ර වෙනවා. මොකද ලෝභ, ද්වේශ, මෝහ සහගත අය ඉන්නෙ අධර්මයේ. ඒ වගේ වැඩ කරන ගොවියො ගත්තත්, වෛද්‍යවරු ගත්තත් එහෙමයි. මිනිස්සුන්ට හෙණ ගැහුවත් කමක් නෑ කියල තමයි ඒ වගේ වැඩ කරන්නෙ. නමුත් අලෝභ, අද්වේශ, අමෝහ සහගත ධර්මානුකූල පැවැත්මක් තියෙන කෙනා යුක්තිය අයුක්තිය දන්නවා, හොඳ නරක තේරෙනවා, ඒවායේ භයානක බව දකිනවා. කෙනෙකුට අපරාධයක් කරන්න හොඳ නෑ, කෙනෙක්ගෙ ජීවිතයට හානි කරන්න හොඳ නෑ කියල වැටහීමක් තියෙනවා. හදවත උණු වෙන ස්වභාවයක් තියෙනවා. ඉතිං නියම බෞද්ධයො නම්, ඒ බෞද්ධකම රැකගන්න නම්, මේ වගේ අසාධාරණ වැඩ කරන්න යන්නෙ නෑ. තමන් පුළුවන් තරම් බේරිලා ඉඳගෙන අනිත් අයත් බේරන්න උත්සාහ කරන්න ඕන.

ඒ නිසා **මේ ලැබිච්ච මනුස්ස අත්බවය ආරක්ෂා කරගෙන සසරින් එතෙර වෙන්න තියෙන අවස්ථාව මග හැර ගන්න එපා. ගෙදර බටු ගහක්, මිරිස් පැළයක් හරි පුළුවන් විදිහට හිටවගෙන වස විස ගහපු ආහාරපාන නොකා නොබී ඉන්න උත්සාහ කරන්න. ගමේ වැවෙන වැල් ගොටුකොළේ, පලා දල්ල, කැලේ තියෙන කැබැල්ල කොළ වගේ ඒවා ආහාරයට ගන්න බලන්න. ඒවා තව තවත් වගා කරන්න.**

ඉතිං අපේ ආදි මුතුන් මිත්තො නම් වගාවලට වස විස කියල දෙයක් යොදා ගත්තෙම නෑ. ගොයම් ගහෙන්, අල බතල ටිකෙන් පටන් අරගෙන හදන ආහාරයට වස විස මිශ්‍ර කළේ නෑ. මිරිස් පැළේට වහ ගැහුවෙ නෑ. නමුත් අද වස විස නොගහන එකක් හොයා ගන්නත් නෑ. ඉතිං රජය තමයි මේවට ප්‍රධාන වශයෙන් වග කියන්න ඕන. පවතින රජය විතරක් නෙවෙයි, පසුගිය හැම රජයක්ම. මොකද බලය තියෙන ඒ අය තමයි මේවට මුල් තැන දීල හොයන්න බලන්න ඕන, ප්‍රමිතිය බලන්න ඕන. හානිකර දේවල් තහනම් කරන්න වගබලා ගන්න ඕන, මිනිස්සු දැනුවත් කරන්න ඕන. වස විස වෙළඳපොළට එන එක නැවැත්තුව නම් ඔය ප්‍රශ්න ඔක්කොම ඉවරයි. ඒව කරන්න බැරි ඒවා නෙවෙයි. නමුත් දැන් හැම එකක්ම බහු ජාතික සමාගම් ඇතුළු ඒවට උල්පන්දම් දෙන බලවතුන්ගෙ පගාවට යට වෙලා තියෙන නිසා කරන්න අමාරුයි. හැබැයි මේ දහම තේරුම් ගත්ත නම්, මොන පගාවකටවත් යට නොවී කොන්ද කෙලින් තියාගෙන වැඩ කරන්න පුළුවන් ශක්තිය ලැබෙනවා. එහෙම දහමක් තමයි දැන් මේ නැවත මතු වෙලා තියෙන්නෙ.

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අරී සිතුම් සුව සෙත වෛද්‍ය සායනය

සුගතිය, නිවන පූර්ණ කර ගැනීමේ පහසුව පිණිස ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන්, පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතු කරනු ලැබූ බේත් හා ප්‍රතිකාර ක්‍රම ඇසුරින් කෙරෙන, අරී සිතුම් සුව සෙත වෛද්‍ය සායනය සෑම ඉරිදා දිනකම උදෑසන 7.00 සිට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේදී පැවැත්වෙන අතර රෝග විමර්ශනය සහ සියලු රෝග සඳහා ඖෂධ ප්‍රතිකාරද කරනු ලැබේ.

වැඩි විස්තර සඳහා පහත දුරකථන අංකවලින් විමසන්න. (ගමන් මාර්ගය 32 පිටුවේ දක්වා ඇත.)
077-7741478 / 077-1620072

# සමාධිමය අත් බෙහෙත්


නා දළු


කුප්පමේනියා


පේර


කොට්ට පොල්


රත් සඳුන්


රතු අරලිය


ගොරකා


තල ඇට

චහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක සිටියදී බෙහෙත් සමාධියෙන් මතු කරගත් තවත් ප්‍රත්‍යක්‍ෂ ඖෂධ කිහිපයක් තමයි මේ සටහන් කරන්නෙ. ඒ ඒ රෝගීන්ට ඒ ඒ අවස්ථාවලදී ගැලපෙන විදිහට එදා මේ ඖෂධ, සමාධියට ගෙතිල ආවත්, මේ වගේ රෝග ලක්‍ෂණ තියෙන අනෙක් හැමදෙනාටමත් මේ ඖෂධ පාවිච්චි කරන්න පුළුවන්. කිසිම අතුරු ආබාධයකින් තොරව වැඩි වියදමක් නැතිව හදාගෙන පාවිච්චි කරන්න පුළුවන් මේ ඖෂධ, මීට පෙරත් සඳහන් කළා වගේ ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වන බව සළකන්න.

## ස්නායු තැලීමෙන් හට ගත් අතපය, තුනටිය ආදී ස්ථානවල හිරි වැටීම් සඳහා

අවශ්‍ය අමුද්‍රව්‍ය :-
අමු පේර කොළ ග්‍රෑම් 500 ක්, රතු අරලිය මල් ග්‍රෑම් 500 ක්, අමු ඉඟුරු ග්‍රෑම් 20 ක්, කුප්පමේනිය මුල් ග්‍රෑම් 150 ක්, ඉඟිනි ඇට කුඩු ග්‍රෑම් 150 ක්, පිරිසිදු පොල්තෙල් බෝතල් 1 1/2 ක්, පිරිසිදු තලතෙල් බෝතල් 1/2 ක්.

පේර කොළ, අරලිය මල්, අමු ඉඟුරු, කුප්පමේනිය මුල් එකට කොටාගෙන එන ඉස්ම ඉඟිනි ඇට කුඩු සමග කලවම් කරල පොල්තෙල් සහ තලතෙල් සමග මිශ්‍ර කරල සමපාකයට එනකල් හිඳගන්න. ඒ විදිහට හිඳ ගත්තු තෙල දවසකට සැරයක් මාස 3 ක් පමණ හිස ගැල්වීමෙන් ඉහත රෝගී තත්ත්වයන් දුරු වෙන්න හේතු වෙනවා.

## සෙම්, වාත ආබාධ දුරු වීම සඳහා තෙලක්

අවශ්‍ය අමුද්‍රව්‍ය :-
උණබොඩ ඉස්ම, රත් හඳුන් කුඩු, ඉඟිනි ඇට කුඩු, සුදු එැණු, තල, අමු ඉඟුරු, රත් කිතුල් මුල්, නා පොතු, ගොරකා

මේවායින් කලං 4 බැගින් අරගෙන පිරිසිදු පොල්තෙල්, අබ තෙල්, මී තෙල්, එඬරු තෙල් සහ තල තෙල් අවුන්ස 4 බැගින් දමා මයුර පාකය පසුකර කර පාකයට ළං වෙනකල් හිඳගන්න. කර පාකයට එනකල් තියන්න එපා. ඒ විදිහට හිඳ ගත් තෙල් උදේ හවස අත්, පාවල ගැල්වීමෙන් ඉහත ආබාධ දුරු වෙන්න හේතු වෙනවා.

## හිස, පපුව ආදී ස්ථානවල සෙම් දෝස පහ කිරීම සඳහා

මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට අවශ්‍ය වෙන්නෙ කොට්ට පොල් ගෙඩි 4 ක් සහ අමු නා දළු ග්‍රෑම් 250 ක්. කොට්ට පොල් ගෙඩිවල මදය අරගෙන පුච්චල එන අළු තමයි මේ සඳහා යොදා ගන්නෙ. නා දළුවලින් ළපටි ඒවා ග්‍රෑම් 200 ක් තෝරගෙන මී පැණියෙන් කොට්ට පොල් අළු සමග අඹර ගන්න. ඒකෙන් තිබ්බටු පළුවක් (ගෙඩි බාගයක්) තරම් ගුලි හදාගෙන උදේ සහ රාත්‍රී ආහාරයට පෙර 1 බැගින් දින 15 ක් පමණ ගන්න.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 67 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

## ශ්‍රම දායකත්වය

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා - මොරටුව ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ ඒ. එම්. ධනරත්න අල්විස් මහතා - පැපිලියාන ■ නිවන්ති වීරතුංග මහත්මිය - මහරගම ■ ඒ. එස්. ඒ. පෙරේරා මහතා - පානදුර ■ ස්වර්ණා සමරසිංහ මහත්මිය - නැදිමාල ■ දර්ශන පෙරේරා මහතා - පිළියන්දල ■ ගයාන් ගුණරත්න මහතා - ගොතටුව ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දායක වූ පින්වතුන්

## මූල්‍යමය දායකත්වය

■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ උදිත ප්‍රියදර්ශන බණ්ඩාර මහතා සහ නදීකා ප්‍රසන්ති පියදාස මහත්මිය පාදුක්ක - රු. 15,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ චාමර මධුසංක මහතා සහ නදීකා ගලගෙදර මහත්මිය - පාදුක්ක - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 10,000/- ■ උපේෂලා ගමනායක මෙනවිය ඇතුළු පවුලේ සැම - වේරහැර - රු. 10,000/- ■ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ රු. 7,000/- ■ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ ඉෂාර නීලරුවන් මහතා - රු. 5,000/- ■ ස්වර්ණා විතාන මහත්මිය - මහරගම - රු. 5,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා - කළුගෙඩිහේන - රු. 5,000/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ ඩිලානි ඩයස් මහත්මිය ඇතුළු පවුලේ සැම - නාවින්න රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ කරුණා ධර්මසේන මහත්මිය සහ නුවංගි ධර්මසේන මහත්මිය - හෝමාගම - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ සංජය රණවීර මහතා - මහරගම - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු. 2,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - 2,000/- ■ මහින්ද පද්මසිරි ද කොස්තා මහතා ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 2,000/- ■ සම්පත් විජයකෝන් මහතා - යක්කල - රු. 2,000/- ■ ගයාන් දසනායක මහතා - හොරණ - රු. 2,000/- ■ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු. 2,000/- ■ ඩියෝනි සහන්යා දියණිය ඇතුළු පවුලේ සැම - පිළියන්දල - රු. 1,720/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 1,650/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා සහ කේ. එම්. කේ. ඩග්ලස් පෙරේරා මහතා - මිනුවන්ගොඩ - රු 1,500/- ■ තිලානි ද සිල්වා මහත්මිය - රු. 1,500/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,200/- ■ දිල්හාන් මුණසිංහ මහතා - හෝමාගම - රු. 1,030/- ■ පී. අයි. උදයංග මහතා - ගම්පහ - රු. 1,015/- ■ පොළොන්නරුවේ විජේවංශ හිමි - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු. 1,000/- ■ චතුරිකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 1,000/- ■ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු. 1,000/- ■ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු. 1,000/- ■ උදයන්ති කුමාරි - බණ්ඩාරනායක මහත්මිය - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු. 1,000/- ■ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ජී. ඩී. ඩබ්. සෝමරත්න මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමන්ති රාජපක්ෂ මහත්මිය - පන්නිපිටිය - රු. 1,000/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ බී. ඒ. වීරසේන මහතා - යක්කල - රු. 1,000/- ■ හසිත බස්නායක මහතා - යක්කල - රු. 1,000/- ■ බෝමිරියේ විසූ නැසී ගිය විනීතා දොලවත්ත මහත්මියට පිං පිණිස - රු. 1,000/- ■ ඉෂාන් විමුක්ති දසනායක පුතා - උඩුවන - රු. 1,000/- ■ එල්. එම්. සුනිල් මහතා - දෙවිනුවර - රු. 1,000/- ■ නන්දනී කරස්නාගොඩ මහත්මිය - කළුගෙඩිහේන - රු. 1,000/- ■ තිසර, නෙත්මි යුවළ - කළුගෙඩිහේන - රු. 1,000/- ■ චතුරිකා හේරත් මහත්මිය - කොච්චිකඩේ - රු. 1,000/- ■ ලීලා නෝනා මහත්මිය - කතරගම - රු. 1,000/- ■ ඒ. ඒ. අකිල ඩිල්ෂාන් පුතා - රදාවාන - රු. 1,000/- ■ ඩබ්. ජී. චාන්දනී මහත්මිය - යායගංගොඩ - රු. 1,000/- ■ සමන් දසනායක මහතා, සුජානි මහත්මිය, අස්විනි දුව - රු. 1,000/- ■ බන්දු ප්‍රියංකර මහතා සහ සුමනා ලියනගේ මහත්මිය - හෝකන්දර - රු. 1,000/- ■ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය, ප්‍රේමා ගුණතිලක මහත්මිය - වෙලගෙදර, ජී. ඒ. චන්ද්‍රා පෙරේරා මහත්මිය - දෙහිවල, කුසුම් අතුකෝරාල මහත්මිය - පුරන්පොත්ත, වහරක, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, ඒ. වී. ජගත් පෙරේරා මහතා - ඇහැළියගොඩ, පී. අරවින්ද කුමාර මහතා - වත්තල, ජී. පී. අයි. ඩී. කුමාර ගලබඩ මහතා - නුවරඑළිය, විජිතා දමයන්ති මහත්මිය - දෙනගල, එරන්ත මහීපාල මහතා - මැල්ලව, ගාමිණී සිරිමාන්න මහතා - රදාවාන, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය -

කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම - එකතුව - රු. 7,500/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 222,915/- ■ පළමු පිටපත් 12,000 සඳහා මුද්‍රණ වියදම රු. 263,000/- ■ අනෙකුත් වියදම් - 19,500/- ■ සම්පූර්ණ වියදම - රු. 282,500/- මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

***හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.***

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net | mp3.hiddendhamma.net | www.helabodhupiyuma.net | www.aaryadharma.org

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අං:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) හසරු ප්‍රින්ටර්ස් - මාලබේ. (0714220558 /0112744308) (3) නිව් පියුම් කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම- 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. - 0112655800 (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) ස ර ස වි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041- 2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල - 0711662643 (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726 (23) දම්රුස් ටෙක්ස් - 10 බී, ගාලු පාර ගල්කිස්ස - 0112721037 (24) ඩබ්. කේ. නලිනසේකර මහතා - මඟුළුමස්විල, වලල්ලාවිට - 0342284428 (25) නිව් නදී ඉන්ඩස්ට්‍රීස් - 160 ඒ, දෙහිවල පාර, මහරගම - 0112842290 (26) චන්දන පූජා භාණ්ඩ - 100, බදුල්ල පාර, හාලිඇල - 0552294999 (27) කුමාර අයන් වර්ක්ස් - 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 0769604682, 0713329621 (28) රුචිර ද සිල්වා මහතා - අංක 09, ග්‍රෑන්ඩ් හොටෙල් පාර, නුවරඑළිය - 0772717514 (29) ගමගේ පොත්හල, අංක 119 ඒ/1, මිද්දෙණිය පාර, අඟුණුකොළපැලැස්ස - 0714492649 (30) නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 0772292677 (31) රාජපක්ෂ වෙළඳසැල - බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 071 2136329 (32) සංජීව සුපර් ග්‍රොසරි - ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 (33) සෙල්මින් ලේබල් (පුද්.) සමාගම - අංක 313/29 බී, ගෝනමඩිත්ත පාර, පිළියන්දල - 077 3018686 / 011 2616349 (34) සෙනරෝ සෙන්ටර් - අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 (35) Mr. Coffee, කෙලින් වීදිය, දේවාලෙගම (පොල්ගහවෙල පාර) - 071 - 4569500 / 035 - 3222220

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

# මාගන්දියා බිසෝ...

කුරු රට විසුව මාගන්දිය දුව බමුණු
දැරු රුව සදිසි වෙන අඟනක කොද තුරුණු
තරුණෙකු පතන සඳ ඇය හැඩ රුව පිරුණු
ගරු සරු රුසිරු බුදු හිමි රුව ඇස ගැසුණු

සැදු පින පෙර සසර මහ බලගතු විපුල
රුදු දුක නසනු හැකි කර පරලොව සපල
බුදු නුවණට පෙනුනි මැගෙ මව්පිය දෙපල
රැඳු බුදු කුළුණු මෙත දෙසු බුදු බණ නිමල

හිමි රුව දුටුව සඳ බැමිණිදු පුදුම වුනා
සැමියෙකු සොයනු තව කුමටද දුවට මනා
සුමිහිරි සිහිනයකි ඔවුනට සතුට ගෙනා
බැමිණිට වගක් නැත දුව ගැන සිතනු විනා

රුව යනු අතිර බව දනු නිති වෙනස් වේ
නව දොර දුගඳ පිරි කැත කුණුපයක් වේ
පවතින මෙකය සත හට මහ දුකක් වේ
නවතනු හැකිද දුබලව මළ කුණක් වේ

මව් පිය දෙපල පැහැදුනි දෙසූ දහම අසා
රැව් දුනි සසල කර හද කුණු කයෙහි දොසා
සිව් සස් දහම වැටුහුනි භව තිමිර නසා
හව් හරණයකි ඔවුනට හිමි වැඩිය නිසා

සැළ විය පුවත මාගන්දිය කුමරි හට
මතු විය තරහ සිතුවිලි කළ නිගරුව ට
නතු විය පව්ටු සිත පළි ගත යුතු බව ට
යෙද විය මැර පිරිස සඟනට ගැරහුම ට

රළු දොස් පරොස් නිතොරව ඇසෙන සවනට
සුළු කොට කෙසේ ඉවසිය හැකිද සඟනට
බැලු සඳ සුදුසු නැත මෙනුවරෙහි විසුමට
මුළු සඟ පිරිස පවසති එබව මුනිඳුට

වැටහෙනු නැත දුදන හට මෙය පව්ටු වැඩක්
දැන ගනු නිරය මිස නැත සුගතියෙහි ඉඩක්
ඉවසනු දින සතක් නොනැගෙනු හැකිය හඬක්
ගරහනු කෙලෙස බුදුවරු ගුණ සුවඳ පිඬක්

(ධම්ම පදය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමනී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා







# නිහඬයි සමිඳුනේ
## අද දම් දෙසු අසුන...



නිවනින් නිවුනු සමිඳුනි දුක් අඳුර දවා
පැවසුව දහම් සිහි වෙයි යළි උදය හවා
නවතනු පිණිස භව ගමනය වෙහෙස නිවා
සුව දෙයි සමිඳුනේ දම් දෙසු අසුන පවා

මහිමය නිසා මග හරිනට සිත නොම දේ
ගිහි වත පවා කටයුතු කදිමය හැම දේ
විහිදවූ දහම් එළි කඳ සත හට අම දේ
සිහිවටනයකි පරිහරණය කළ හැම දේ

දම් සක් හඬින් රැව් දුන් හැටි ගොළුව හැර
නම් ගොත් ඇඳී එයි සිතිවිලි අවදි කර
පින්වත් පිරිස දෙසවන් දොර අගුළු ඇර
මන් මත් කළා දහමින් යළි අමර පුර

දිව ගිය වදන් මුවගින් කවි වැලක ඔතා
පවසනු කෙළෙස අද එලෙසින් දහම ගොතා
එවදන් ගෙනා ලොව්තුරු සුව බලය සෙතා
අවටින් තිබුනු ගස් ගල් වැල්වලද ඈතා

භවයට හිරව යන මෙගමන මැද බේද
නවතනු පිණිස දෙසු දම් ගැන නැත වාද
නිවනට මග එකළු කර දුන් බල යෝධ
සුව දෙයි සමිඳ පරිහරණය කළ දෑද

නිහඬයි සමිඳුනේ අද දම් දෙසු අසුන
නහවයි දම් සොවින් සිවු පිරිසගෙ දසුන
නොහඬයි කෙනෙක් ඒ දම් හඬ නොම ඇසුන
පහදයි නිමල දම් මග කලෙකදී වැසුන

නෙක සතුනටද මතු උපදින මෙබිම තුල
දැක පැහැදෙනු පිණිස සිවුපස ඇසුරු කළ
සැක හැර දැනෙන්නට ලබනට දහමෙ ඵල
රැකවරණයට වේවා තුන් සරණෙ බල

හත් සිය කලෙක බැබලෙන බුදු දහම මතු
අත් වැල නැගේවා සත හට නිවන පැතු
පුත් බුදු හිමිගෙ දෙසු සදහම් ගසෙහි අතු
සත් වග වෙතට විහිදේවා පැහැද නෙතු

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1067 Rs.25.00
Hela Bodhu Piyuma 67

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී